මෙම පොත ඔබ අප සැම කියවා ලබන දැනුමෙන් රැස් කර ගන්නා පින්,

ඉපැරණි හෙළ වංශ කතාවේ අප නොදුටු පැත්ත හෙළි පෙහෙළි කර දුන්

මෙම පොතේ කර්තෘ ජේ. මාකස් ප්‍රනාන්දු මහතාටත්, හීන්බණ්ඩාර මහතාටත්,

රාවණ යුගයේ සිටි හෙළ වීරුවන්ටත්, ඔවුන්ට මාධ්‍ය වූ ඒ. එෆ්. කොකාවල මහතාටත්

අනුමෝදන් වේවා.

# මේ පොත !?!

''කොග්ගල නිළමේ'' පොත නිකුත්වීමෙන් පසු මා වෙත යොමුවූ විවිධ ලිපි වලින් මගේද කුතුහලය වැඩිවිය. එහි සඳහන් දෑ අනුව මෙතෙක් ඉතිහාසය ලෙස පිළිගෙන තිබූ අදහස් සැක සහිත බවද ඇතැමෙකු සඳහන් කර තිබිණ.

කෙසේ හෝ වේවා මෙම කතාවේ පළමු කොටසේ දිග පෙරවදනක් ලියා ඇති බැවින් පෙරවදනක් වෙනුවට මුල් පොත කියවූ විද්වතෙකුගේ අදහස් එතුමාගේ අවසරය ලැබුවෙන් පළ කිරීමට අදහස් කරමි.

පේරාදෙණිය සරසවියේ කලා පීඨාධිපති තුමා මෙසේ ලියයි.

බී/4 සරසවි උයන
පේරාදෙණිය.
1993 ඔක්තෝබර් 25

තෙරුවන් සරණයි!
හිතවත් මාකස් ප්‍රනාන්දු මහතා වෙත.
හිතවත,

ඔබේ ''කොග්ගල නිළමේ'' පොත ඉතා ආසාවෙන් කියවූයෙමි. පොත කියවීම අරඹනතෙක් මෙය කුමන අන්දමේ කෘතියක් වියහැකි දැයි මා තුළ ස්ථිර අදහසක් තිබුණේ නැත. එහෙත් එය ඇරඹූ පසු නැවැත්විය නොහැකි අන්දමේ රසවත් කතාවක් වූ බව නම් කිව යුතුමය,

මෙහි සඳහන් පුවත සත්‍ය පුවතක් බව ඔබ පවසනවා. එහෙත් සත්‍ය පුවතක් වුවත් පාඨක කුතුහලය රඳවා ගත හැකි පරිදි ඉදිරිපත් කළ හැක්කේ අසාමාන්‍ය ලේඛන කුසලතාවක් ඇති කෙනෙකුට පමණයි. ඒ අතින් ඔබ පළ කර ඇති හැකියාව මහත්සේ අගය කරමි.

මෙහි ඊළඟ කොටස පළවන්නේ කවදද?

අනෙක් වැදගත් කරුණ නම් හෙළයන්ගේ අතීතය ගැන ඔබ පවසන කරුණුයි. මේ ගැන විවිධ මතිමතාන්තර විවිධ උගතුන් පළකර තියෙනවා. මා දන්නා හැටියට මහාවංශයේ

සඳහන් යක්ෂ නාගාදීන්ගෙන් නිරූපණය වන්නේ හෙළ දිවෙ ඉපැරණි ශිෂ්ට මනුෂ්‍ය වර්ගයක් බව මුලින්ම සඳහන් කළේ දහනව වන සියවසේ මැද දී ජේම්ස් ද අල්විස් පඬිතුමා. පසුව එක් දහස් නවසිය තිස් ගණන්වලදී කුමාරතුංගගේ අභින්ද මේ අදහස් කියැවුනා. ඔවුන් ඒ අදහස ගැන වඩා ගැඹුරට සිතු නමුත් තමාගේ මතය ස්ථිරව ඔප්පු කිරීමට සාධක ඉදිරිපත් කළ නොහැකිවූ බවයි, පෙනෙන්නේ.

ඒ කෙසේ වෙතත් ඔබ සොයාගෙන ඇති කරුණු පාඨක ලෝකයා වෙත ඉදිරිපත් කළ හැකි වේතැයි ඉත සිතින් බලාපොරොත්තු වෙමි.

පොත කියවන්නට ඉඩ සැලසීම ගැන පින්.

සැපවේවා!

මිට – හිතවත්,

කේ. එන්. ඕ. ධර්මදාස

පොතේ පළමු කොටස කියවා ලිපියකින්ම මා දිරිගැන්නූ පේරාදෙණි සරසවියේ කලා පීඨාධිපති කේ. එන්. ඕ. ධර්මදාස සිරිමතුන්ට සහ මා නිරන්තරයෙන් දිරිගන්වන පේරාදෙණියේ තම්බපණ්ණි ආයතනාධිපති ප්‍රේමකුමාර එපිටවෙල මහතාට, මහනුවර තරුණ බෞද්ධ සංගමයේ සභාපති සී. වී. හෙට්ටි-ආරච්චි මහතාට සහ සිරිල් ඒ. සීලවිමල මහතාටද මගේ ස්තුතිය පිරිනැමේ.

පොත කියවූ ඔබට සිව් හෙළ සිවවරම් දෙවිඳුන්ගේ රැකවරණයි.

තෙවැනි කොටසද ලබාදීම බලාපොරොත්තු වන්න.


ජේ. මෑකස් ප්‍රනාන්දු

183, මහවැලි උයන,
මහනුවර.
දුරකථනය: 08 225329

# දෙවැනි කොටස - දෙවැනි දිනය

කොග්ගල මහතා කාමරය තුළ මෙට්ටය මත දිගා වී නිහඬව සිටී. උස් පහත් වෙමින් දැල්වෙමින් තිබූ මිලින ලාම්පු දැල්ලෙන් කාමරයේ තද අඳුර අඩ අඳුරක් වී තිබිණ. කාමරය තුළ රජ කළ නිහැඬියාව මගේ සිත එකඟ කර සමවතකට සමවැදීමට පරිසරය සකස් වී තිබිණ. පසුගිය දින දෙක තුළ සිදු වූ දේ ගැන මගේ සිත යොමු වී තිබිණ. කොග්ගල මහතාට ආවේශ වී සිටි මළ යකා, නිළමෙ, කොග්ගල මහතාගේ සිරුරෙන් පිටව ගොස් ඇති සෙයකි.

තෙවැනි දින උදාවීමට තව පැය කිහිපයක් ඇත,

''මාකස් මහත්තය,'' කොකාවල මහතා මා ඇමතුවේ තරමක් උස් හඬකිනි.

''නිලමේ'' කියමින් මා කොග්ගල මහතා දෙසට හැරුණේ ඊට මොහොතකට පෙර රාවණා යුගයෙන් ආ බාසුරු කී දේ මෙනෙහි කරමින්, අතීතයත්, වත්මනත්, අනාගතයත් අතර අතරමං වී සිටීම්න්ම ය.

''මහත්තය නිදිද? මා කී වරක් කතා කළාද? මහත්තයට ඇහුනෙ නැතිද? ඒ ඇසුවේ නිළමේ නොව කොග්ගල මහතාය.

''මොන නින්දක්ද මිස්ට කොග්ගල? මා කල්පනා කළේ බාසුරු කී අන්දමට අපේ අනාගතය එතරම් සුබ නැහැ. නිළමෙට පින් සිදුවන්න මේව දැනගන්න ලැබුන එකත් ලොකු දෙයක්,'' මා කීවා.

''නිළමෙ මොනව කීවද මා දන්නෙ නැහැ නොවෑ. කෝ ඒ යකා; කොහෙ ගිහින්ද? මිස්ට මාකස්ට කියන්න ඇතිනෙ යන තැනක්. මේ වතාවේ ඕක මෙල්ල කරන්න මිස්ට මාකස් චිත් ඉන්නව. පසුගිය වතාවේ මා සැහෙන දුකක් වින්ද.'' කොග්ගල මහතා කීවේ මහත් අසරණ ලෙසකිනි.

''නිලමෙ කිව කොටගම කන්දක් ගැනත්. බුළුලෙනක් ගැහත් කීව. බුළුලෙනේ අමර නැමැත්තෙක් ගැනත් කිව. සමහරවිට නිළමෙ අමර කැඳව ගෙන එන්න යන්න ඇති.'' මා කීවේ කොග්ගල මහතාට නිලමේ ආවේශව සිටි කාලය තුළ කළ කී දෙය ඔහු නොදත් බැවිනි.

හිටි හැටියේ ම කොග්ගල මහතාගේ සිරුර දරදඬු විය. දූත් මිට මෙළවිණ සිරුර දිගහැරී මෙට්ටය මත දිගාවිය.

''හාහ්! මහය, රාවණ යුගයෙ අමුත්තෙෝ මහත්තය අමතන විදියටම මාත් මහත්තයට ''මහය'' කියා අමතන්නම්. වරදක් නැහැනෙ? මෙන්න මා පොරොන්දු වුන හැටියට අමර කැඳවාගෙන ආව. දූත් ඉතින් මහයට ඕනෑ දෙයක් අහගන්න. ''එළි වෙන්නත් තව පැය ගාණක් ඇතිනොවැ. සෑහෙන වෙලාවක් අමර සමග ගත කළ හැකි නොවැ. ඔන්න දූත් ඉතින් මගේ වාහනේ අමරට පවරනව.'' නිළමේ නිහඬ විය.

නිළමේ තම වාහනය ලෙස හැඳින්වූයේ කොග්ගල මහතාගේ සිරුරය. ජීවත්වන මිනිසුන් බුහු ලොවේ නොහොත් භූත ලෝකයේ සිටි මිනිසෙකුට පණිවුඩයක් දීමට හෝ කතා කිරීමට ඇවැසි වූ විට කිසියම් මිනිසෙකුගේ සිතට ඇතුළුව එම පණිවුඩය දීම හෝ එම සිත දුරු කයින් හෝ වෙනත් කෙනෙකුට එම පණිවුඩය දෙනු ලබයි. භූතයෙකුයැයි හැඳින්වෙනුයේ සිතුවිලි පරපුරකින් සැදි බලවේගයකි. එබඳු භූතයෙකුට නොහොත් බලවේගයකට හැම මිනිසෙකුගේම සිත අවනත කර ගත නොහැකිය. එම බලවේගයට අවනත වන මිනිස් සිතකට පමණි. එම බලවේගයට කැමැතිලෙස එම මිනිසා හැසිරවිය හැකි වනුයේ. එබඳු මිනිසුන් එම බලවේග විසින් හඳුන්වනු ලබනුයේ 'වාහන' ලෙසිනි.

''අමර ආ බව නිළමෙ කීවට මට අමර පෙනෙන්නෙ නැහැ නොවැ. ඉතින් කොහොමද මා ඔහු හඳුනාගන්නේ?'' මා කීවේ තරමක නොඉවසිල්ලෙනි.

''ඔන්න එහෙනම් මා අයින් වෙන්නම්. මහය කතා කරන්නකො අමර එක්ක.'' නිලමෙ කොග්ගල මහතාගේ සිරුර අමරට කැප කර නිහඬ විය.

''හාහ්, බදුරු, වසර දහස් ගණනකට පසු අප හමුවුණා. ඔබේ ගත අප සමග සිටි කලදී වගෙ නොවෙයි දැන් බොහොම කුඩා නොවැ. හඳුනන්නත් අමාරුයි. එහෙත් ඔබේ සිත නම් දැනුත් ඒ වගේ මයි. බදුරු මා හමුවීමට පතන බව නිළමෙ කීවම මා වහාම ආව.'' ඒ අමරය.

මා නෙතින් නොදුටු අමර සිතින් දුටුවා.

''අමර දක්වන සැලකිල්ල ගැන නොවක් තුති. මට නිළමේ හමුවීමෙන් පසුව රාවණ යුගයේ කිහිප දෙනෙකුම හමුවීමට හැකිවුණා. ඒ ඇත්තන්ගෙන් සෑහෙන විස්තර රැසක් ලැබුන. අමර ඉන්නෙ බූළුලෙපෝ නොවැ. මට ඒ පළාතේ අතීතය ගැනත් දැන ගැනීමට ඇවසියි. ඔය බූළු ලෙන පෙදෙස කොපමණ පැරණිද?'' මට ඇවැසි දෙය මා කෙළින් ම කීවා.

''බූළුලෙනත්, ඒ අවටත් ගැන මා දන්නෙ රාවණා යුගයෙත්, ඊට පසුවත් සිදුවූ දේ පමණයි. නමුත් ඒ පළාතට ඊටත් වඩා ඈත අතීතයක් තිබෙනවා. මා මහාකාල රුසිතුමා යටතේ වෙද සතර උගෙන ගෙන එතුමාගේ උපදෙස් පරිදි බූළු ලෙනේ බෙහෙත් සෑදීම ඇරඹුවා. ඊට පෙරත් ඒ පළාතම බෙහෙත් ගස්වැල් වලින් සෑදී තිබුන.'' අමර අතීත කතාව ඇරඹුයේ එසේයි.

''ඇයි ඒ ලෙනට බූළුලෙන යැයි නම් කර තිබෙන්නෙ?'' මා ඇසුයේ කිසියම තැනක් නම් කිරීමේදී එතැන හෝ එම පළාතේ කිසියම වැදගත් දෙයක් මුල් කර ගෙන නම් කර ඇති බැවිනි.

''ඒ පෙදෙසෙ බොහොම සරුවට බුළු වැවී තිබුණ. බූළු පමණක් නොවෙයි, නොයෙකුත් බෙහෙත් ජාතිත් බොහොම-යක් ම එහි සරුවට වැවී තිබුණා. ඒ නිසාම තමා මහාකාල

රුසිතුමා බෙහෙත් සෑදීමෙ බෙහෙත් හල සඳහා එතැනම තෝරාගත්තේ. එපමණක් නොවෙයි, ඔය බුළු ලෙන අසල විශාල බුළු ගෙඩියක හැඩය ඇති ගල් කුලක් තිබෙනව.

මා වෙද සතර හඳුරා අවසන මහාකාල රුසිතුමාගෙ නියමය අනුව බුළු ලෙනේ දිවි ගෙවුම ඇරඹුවා. එකල මා සමගම සිප් හැදූරූ කුඹුකන් කුමාරයත් මේ පෙදෙස බාරගෙන එතුමා ඉගෙන ගත් ගොවි කම් කිරීම පටන්ගත්ත. වී ගොවි කමටයි පළමු තැන දුන්නෙ. එනිසාම එතුමාගෙ නමින්ම වී වැවීම් කුඹු කම් නම්වුනා. එතුමා විසින් රටවැසියන්ට හුරු කළ දෙය ''කුඹුහුරු වුනා'' අමර එසේ කී විට මටද අදහසක් පහළවුණි.

''එහෙනම් අමර එනිසාමවෙන්න ඇති කුඹුහුරු ''කුඹුරු'' වුනේ.'' මා කීවා.

''ඔව්, එහෙමත් වෙන්න ඇති. මේ පළාතත් එතුමාගෙ නාමින් කුඹු කන් පෙදෙස නම්වුනා.

එතුමාගෙ රජදහන මෙහි සිට මුහුද තෙක් විහිදුණා. මෙ පෙදෙසින් පටන්ගැනෙන හොයත් කුඹුකන් නමින් නම් වුණා කුඹුකන් හොය ඉස්මත්තෙ කුඹුකන් රුවක් ගලක නෙලා ඇති. එය අදත් දැකිය හැකියි.

කුඹුකන් මාලිගය තිබුණෙත් මේ අසලම යි. රාවණ රාම හටන පටන් ගැනීමට පෙර කුඹුකන් කුමරු තම රජදහන කෙතින් බතින් සරු කළා. මේ පළාතට රාම රාවණ හටනෙදී කොහෙකුත් හිරිහැර, අතවර පැමිණුනා. මේ පෙදෙසෙ අහස් අවි ගැටුමකුත් ඇතිවුණා. හටන පටන් ගෙන හමසක් යනතුරු කුඹුකන් සටනට අත දුන්නෙ නැහැ. එනිසා ම කුඹුකන් කුමරු හමසක් නිදා සිටියායැයි කතාවකුත් පැතිරුණා. කුඹුකන් කුමරු හටනට අත දුන්නෙ නැත්තෙ රාවණ රජතුමා සීතා දේවිය ගෙන ඒම කුඹුකන් කුමරුත්, විබීසන කුමරුත් අනුමත කළේ නැති නිසයි.

කුම්භකර්ණ කුමරු පමණක් නොවෙයි, විභීෂණ කුමරුත් සීතාවන් මෙහි ගෙන ඒම වැරදි බව රාවණ රජතුමාට පෙන්වා දුන්නා, නමුත් රාවණ රජතුමා එය පිළිගත්තේ නැහැ. විභීෂණ කුමරු තමා මහාකාල රූසි තුමාගෙන් නීතිය හැදෑරුවේ. එනිසා එතුමා රාවණ රජයේ නීතිපති පදවිය දැරුව. නමුත් රාවණ රජතුමා විභීෂණ කුමරුගෙ උපදෙස් නොපිළිගත් බැවින් විභීෂණ කුමරු එම පදවියත් අතහැර නිහඬවූණා. වසර ගණනක් සටන පැවති අතර රට වැසියන් දහස් ගණනක් මරුමුවට පත් වුණා, දූයට දිවිපුදු දිවුරුම් දී සිටි විභීෂණ කුමරුට එය ඉනා ඉවසිය හැකි වූ බැවින් රාවණ රජතුමා පරදවා නීතියත්, යුක්තියත් ඉටුකර දූය මුදා ගැනීමට ඉටාගෙන රාම කුමරුට එක් වුණා. විභීෂණ කුමරු රාම කුමරුට එක්වූනේ රාවණ රජතුමා නැසීමේ අදහසින් නොවෙයි. යුක්තිය පෙන්වා දී රට මුදා ගැනීමටයි. විභීෂණ කුමරු නීති පති පදවියට පත්වීමේදී දුන් දිවුරුම, එනම දිවිහිමියෙන් හැම විටම, හැම කරුණක දීම රටත්, දූයත් රැකීම පරම යුතුකම බව එම දිවුරුමයි. රජය භාර ගැනීමේදීත්, රජයේ නිලතල භාර ගැනීමේදීත් එකල එබඳු දිවුරුමක් දීම කළ යුතුමයි. මරණින් පසු හෙළ දෙවියෙකු වූ විභීෂණ කුමරු අදත් හෙළ දූයේ නීතිය රැකීමත් යුක්තිය ඉටු කිරීමත්භාර හෙළ දෙවිඳු බවට පත්වුනා.'' අමර නොනවත්වාම කියාගෙන ගියේ මගේ මනසද අතීතයේ කිඳා බස්වමිනි.

''එහෙත් අමර අප දූයේ සමහරකගෙ අදහස නම් විභීෂණ කුමරු රාම කුමරුට එකතුවීමෙන් රටටත්, දූයටත් එරෙහි වී ඇති බවයි, එවදන් මගෙ මුවින් පිටවූයේ නිතැතින්මය. එබඳු අදහසක් මසිතෙහිද බලපා ඇති බව ඒ මොහොතෙහි මා නොදත් සේය.

''මහය, මෙලොව ඇති හැම දෙයක් සේ ම හැම දෙනෙකුගේ ම අදහසුත් එක හා සමාන නැහැ. යුක්තිය ගරු කරන හැම දෙනෙකුම විභීෂණ කුමරු හා එකඟ වීම සහතිකයි. මිනිස් දිවියේදි නීතිය රැකීම කළ බැවින් මරණින් මතු දේවත්වයට පැමිණීමෙන් පසුත් එයටම කැපවී සිටීම හෙළ දහමයි.''

විබුෂසන් කුමරු මෙන් ම එකල මෙහි දිවි ගෙවූ බොහෝ දෙනෙක් අදත් දෙවි බවට පත් ව හෝ මිනිස් දිවි ගෙවමින් රටට දැයට සෙත සලසනව. කුඹුකන් කුමරුත් මරණින් මතු හෙළ දිවෙම ඉපිද මින්නේරියෙ දෙවියන් නමින් පසිඳුව හෙළ දැයට සෙත සැලසුවේ පෙර අත්බවේ හුරු පුරුද්ද ලෙස ගොවි-තැන් කිරීමෙනුයි. ගොවිකම් රැකීමට මින්නේරියේ දෙවියන් අදත් පිහිට වෙනව. නමුත් දැයේ අවාසනාවකට බොහොම දෙනෙකු එම උදවු උපකාර පතන්නෙ නැහැ."

"අමර, ඒ දහම අනුව මිනිස් දිවි අවසන අමරට පැවරී ඇති කාරිය කුමක්ද?" මා ඇසුයෙ අමර ගෙනුත් කිසියම් උදව් උපකාර ලබා ගත හැකි නම් ඒ සඳහාය.

"මිනිස් දිවි අවසන මා දිවි ගෙවූ පරිසරයෙම එම පරිසරය රකිමින් ගැවසෙනව. මහාකාල රුසිකුමාගෙන් මා හැදෑරුවෙ බෙහෙත් වැවීම, බෙහෙත් පිළියෙල කිරීම ආදිය ගැනයි. ඒ අනුව මා අදත් ඒ සඳහා නිරතව සිටිනව. නමුත් අවාසනාව අද හෙළයින් හෙළ බෙහෙත් ගැන තැකීමක් නැහැ." අමර කීයෙ ඉමහත් සොවින් මෙනි.

"හොඳයි අමර, අපි කොහොමද බෙහෙත් සෑදීමේදී අමරගෙන් උදව් උපකාර ලබාගන්නේ? ඒ සඳහා කළ යුත්තේ කුමක්ද?" මා ඇසුයේ ඈත අතීතයේ වැසී ගිය අදිසි බලවේග ලබා ගැනීමේ මං සෙවීමටය.

"මහය, මෙලොව ඇති හැම දෙයකටම බලපාන අදිසි බලවේග තිබෙනව. ඒවා මිනිසාගේ යහපත සඳහා යොදවා ගැනීමෙ විදි තිබෙනව. එයින් එක් බලවේගයක් තමා හිරුගේ බලය. එම බලය මිහි මත හැම තැනකටම එකම වෙලා-වකට, එකම ලෙසට බලපාන්නෙ නැහැ. යම් යම් පළාත් වලට, පෙදෙස්වලට, තැන්වලට යම් යම් වෙලාවන්හි එම බලවේග අඩු වැඩි ලෙසට ලැබෙනව. එබැවින් ඒ ඒ තැන්-වලට සුදුසු බලවත් වෙලාවන් සකසාගෙන බෙහෙත් සෑදීම ඇරඹිය යුතුයි. එසේම අදිසි බලවේග ඇති අදිසි සඳ තරඟ (ශබ්ද තරංග) තිබෙනව. ඒ තරඟ සකස්කර බෙහෙත් සෑදීමේදී

යෙදිය යුතුයි. එබඳු බලවේග යොමු කිරීම බෙහෙත් සෑදීමට පමණක් සීමා වෙලා නැහැ. නොයෙකුත් දේ සඳහා යෙදිය හැකියි. ඒවා යහපත සඳහා පමණක් නොවෙයි, වැනසීමටත් යෙදිය හැකියි.

එපමණක් නොවෙයි, අපේ ආදි මුතුන් මිත්තන් යක්, රක්, නා, දෙව් ලෙසින් උපත් ලබා සිටින්නන්ගෙ බලයත් ඒ සඳහා ලබාගත හැකියි. උපත් ගණනාවකම හෙළදිවේ ඉපිද වෙදකමේ නියැලීව සිට අවසන් දිවියේ උපුල්වන් දෙවිව ඇති උපුල්වන් දෙවිඳු හෙළයින්ගේ රෝ දුක් සඳහා පිහිට වීමටත්, බෙහෙත් සඳහා බලපෑමටත් ඇති හෙළ දෙවිඳුන්. එතුමාගෙ බලයත් ලබා ගත යුතුයි.''

''අමර, උපුල්වන් දෙවිඳුන් අත්බැව් ගණනාවක් හෙළ පරපුරේ ඉපිද සිටි බව ඔබ කීව. ඒ අත්බැව් ගැන විස්තර කරන්න හැකිද?'' මා ඇසුවේ මෙතෙක් ලියැවී නැති ආදි කාලීන තොරතුරු ලබා ගැනීමට ය.

''මා මිනිස් දිවි ගෙවූ කාලයට පෙර අපේ රුහේ හිටිය පුලතිස නමැති රිසිවරයෙක්. එතුමාගෙ නම ඉන්දිය පොත් පත් වලත් සඳහන් වෙනව. ඒවායෙ ලියැවෙන්නෙ පුලස්ථි නමිනුයි. එතුමා බාරතයෙ පැවති වෙද සමුළුවලටත් කැඳවුම් ලද්දෙක්. එතුමා පුලතිස යැයි නම් වුණේ එතුමා කළු පැහැ නිසයි. කළු නැනැත්තට කළුයැයි නොකිය නිල් පැහැය බව කීමට උපුල්මලේ පාට යැයි කීව. එබැවින් එතුමා උපුලදිස නම්වුණා. උපුලදිසෙහි උ යනු නොකියැවී පුලදිස නම්වුණා. තවත් කල් යාමේදී ''දි''කියැවුනෙ''ති'' ලෙසටයි ඒ අනුව පුලදිස පුලතිස වූනා. හෙළ පරපුරේ එතුමාගේ ඊළඟ උපත අපේ කාලයේදී එනම් මිහාරාවණ රජතුමාගෙ කාලෙ මහාකාල නමින් රුසිව්රයෙකුව ඉපදුණා. ඔබත් ඇතුළු අප දහදෙනෙක් සිප් සතර උගෙනගත්තෙ එතුමාගෙනුයි. ඊළඟ ආත්මයෙ එතුමා මලය රට කොත්මලේ මහමෙවන් නමින් ඉපිද රෝහුන් පෙදෙස නොහොත් රජ් උන් පෙදෙස වන රුහුනෙ රජකළා. ඊළඟ අත්බැවේ තමා උපුල්වන් නමින් දෙව් වුනේ.'' අමර විස්තර කළා.

''අමර, මා ලුනුගල සේවයට ආවාට පසු මට දැනගන්න ලැබුන මේ පළාතේ බෙහෙත් වතු රැසක් ඇති බව. අද වනාන්තර වී ඇති පෙදෙස් බොහොමයක් ඒ කාලෙ බෙහෙත් වතු වී තිබෙන්න ඇති.'' මා එසේ කීයේ අමරගේ අදහස් විමසීමටය.

''ඔව් මහය, ඒව බොහොමයක් වැවුයෙ මගෙ උපදෙස් අනුවයි. කුඹුකන් තැන්නෙ බුළුගල අවට එකම බෙහෙත් වත්තක්. එහි නොතිබූ බෙහෙත් ගසක්, වැලක්, පැලයක් තිබ්බුනෙ නැහැ. නමුත් දූමයේ අඩාසනාවට දූව ගැනීමට ලොකු ගස් කපා හෙළනව. එයින් තව ටික කලකදි ඒ බෙහෙත් උයනත් වැනසේවි.

බෙහෙත් සෑදිමේදීත්, බෙහෙත් සෑදීමට පටන් ගැනි-මේදිත් උපුල්වන් දෙවිඳුන්ට පුද උපහාර පැවැත්වීමට දෙව් විමනකුත් එහි තිබුන. දැනට එය දිරාපත්වී තිබුණත් මා එය රකිනව.'' අමර ඒ ටික කීවේ තරමක් දුක්මුසු ලෙසිනි.

''දැන් මට පෙණෙන හැටියට අමරට නිදහසක් නැති සැටියි, එතරමම වැඩ ගොඩක්. අපේ ඒ පැරණි අතීතයෙ දේ රැසක් රැකීමත් ලේසි පහසු කාරියක් නොවෙයි. ඔය හැම දෙයක්ම තනිවම කළහැකිද?'' මා ඇසුයේ අමරගේ වැදගත් කම පෙන්වා තව තවත් දේ දැන ගැනීමටය.

''නැහැ බඳුරු, ආහ් මට ඔබේ පැරණි නමත් කියැවුනා අප එකට ඉගෙනුම් කරද්දි ඔබ ඇමතුවේ බඳුරු කියායි.

එහෙත් කල් යත්ම ඔබ නැණින් මෝරණ විට, උගත් කමින් වැඩිවන විට අපි ඔබ ඇමතුවේ මහය යන ගරු නමිනුයි. දැන් වගේ නමා ඒ කාලෙත් ඔබට ලොකු තැනක් හිමිවුණා ඔබේ නමින්ම ඔබ ඇමතුවේ ලෙන්ගතු කමටයි. පැරණි මිතුරෙකු හමුවුණාම හිතට ලොකු සතුටක්නෙ.'' අමර කියාගෙන ගියේ නමින් මා ඇමතීම මදිකමක් සේ සලකා විය හැකියයි මා සිතුවා.

''කමත් නැහැ අමර අපි දැන් කතා කළ දෙයින් පිට පැන්න නොවැ. අමර ඔය හැම දෙය්ක් ම කරන්නෙ තනි-වමද?'' මා ඇසුයේ තවත් විස්තර ලබා ගැනීමටය.

''නැහැ මහය, අමරගෙ ඒ කාලෙ සගයෝ අදත් අමර සමග මයි. මේ දැනුත් මා සමග තවත් තිදෙනෙකු ඉන්නව. ඇයි ඔබට පේනෙන්නෙ නැතිද? ඒ තිදෙනා නිතොරම මා සමගයි. ඊට අමතරව තවත් අය ඉන්නව. ඒ අය අපි නැති අතර කිසියම් අතවරයක් සිදුවීම වැළැක්වීමට එහි රැකුම්වල යෙදෙනව. අපේ කාලෙ වගෙ නොවෙයි දැන් ඉන්න අය තන්හාවෙන් පිරිල. දැය ගැන හිතන්නෙ නැහැ. තමන් ගැන පමණයි සිතන්නෙ. අපේ පරම්පරාගත පැරණි දේ ඔවුන් සොරා ගන්නව. නිදන් හොරු බහුලයි. රාවණ රජතුමාගේ අබරණ කිහිපයක් බුළුගල නිදන් කර තිබෙනව. මහාකාල රුසිතුමාගේ මන්තර පොතකුත් තිබෙනව. ඒවා සොර සතුරන්ගෙන් රැක ගැනීම අපේ යුතුකම.'' අමර කියාගෙන ගියේ නොනවත්වාමය.

''නිදන්ගත දේ ගැන හෙළි කිරීම අපට තහනම්. එහෙත් මහයත් අපේම කෙනෙකු නිසා ඒවා මහයට හෙළි කිරීමෙන් වරදක් නොවන බව මට සහතිකයි. මා හිතනව තව ඉදිරියට අපේ කාරිය තරමක් අපහසු වෙන බවයි, පෙනී යන්නෙ. ඒ පෙදෙස මහ වනයෙන් වැසී තිබෙන තුරු මිනිසුන්ගේ ගැවසීම විරලයි. එහෙත් දැන් දැන් කැලෑ හෙළි කරමින් ගම් දනව් ඇති කරනව. මහයාත් දන්නවනෙ අපේ කාලෙ නම් ගහක් කපන්නෙ, වන පෙත් හෙළි පෙහෙළි කරන්නෙ ඒවා අරක්ගෙන ඇති මළවුන්ට පිදුම් පුද යහ ගී ගයා මළවුන්ගෙන් අවසර රැගෙනනෙ. දැන් එහෙම නැහැ නොවැ.''

ටිකක් ඉන්න අමර, අමර කීවනොවැ අමරගෙ පිරිස බුලුගල අවට රැකවරණ සලසනව කියා. සිරුරු නැති ඔබ හැම කොහොමද සිරුරු ඇති අව් දරු මිනිසුන්ගෙන් ඒව රැකගන්නෙ.? මා ඇසුවේ මා සිතු හැටියට මා නොදත් යමක් දැන ගැනීමටය.

''මහය, අපට සිරුරු නැතිවුනාට අපට සිරුරු මැවිය හැකියි. අප මවන සිරුරු හැම කෙනෙකුටම පෙනෙන්නෙ නැහැ. බලවත් සිත් ඇති අයට එම සිරුරු නොපෙනෙයි.

එබඳු සිරුරුවලට සමහරෙක් කියන්නෙ අවතාර නැතහොත් හොල්මන්ය කියා. අපේ රැකවරණේ ඇති දේ සොරාගැනීමට එන අය බියවද්දන්නෙ එබඳු සිරුරු මැවීමෙනුයි.''

''අමර කීවනෙ බුලු ලෙනේ මන්තර පොතක් නිදන් කර ඇති බව. ඒ කාලෙ පොත් පත් තිබුනද? අකුරු ලිවීමක් තිබුනද? ඇයි එහෙම තිබුන නම් ඒවා නටබුන් අතරින් වත් හමුනොවන්නෙ?.'' මා ඇසුයේ මන්තර ගැන ඇති කුතුහලයට වඩා ඒ ඈත අතීතයේ ලිවීමේ කලාව තිබියේ දැයි දැනගැනීමටය.

''ඒ කාලෙ ලිවීමේ කලාව තිබුණ. නමුත් ලිවීමට කියැවීමට හැකියාව ඇති අය ඉතාම විරලයි. මහකාල රුසිතුමාට ලිවීම කියවීම හැකියි. එතුමාගෙන් සිප් හැදූරු අයටත් හැකියාව තිබුණ. නමුත් ලිවීම කියවීම බාවිතා වුනේ නැහැ. ඒ කාලෙ හිටිය සිප් සතර දත් අයට යමක් එක් වරක් ඇසුනාම එය සිතේ රැඳෙනව. එපමණක් නොවෙයි, සිතුවිලි තරඟ මගින් අදහස් හුවමාරු කර ගැනීමෙ හැකියාවක් තිබුණ. දැන් අප දෙදෙනාත් අදහස් හුවමාරු කර ගන්නෙත් ඒ විදියටම තමා ඔබේ සිරුර නින්දෙ. එහෙත් සිත අවදියි. ඔබත් මාත් මිනිස් දිවි ගෙවූ ඒ යුගයේ ගතට වඩා සිතටයි, නැනක් දුන්නෙ. ඒ නිසා ලිවීම ඇවැසි වූයේ නැහැ.'',

''තවත් මන්තර පොත් නිදන් කළ තැන් තියෙනවද?'' මා ඇසුයේ තව තවත් ලිවීමෙ කලාව වෙත අමර යොමු කිරීමටය.

''ඔව් තුබුණ. මා දන්න තරමට දැනුත් එක් පොතක් බිම් තැන්පො ගුරුලූපොත සීතා ලෙනේ තැන්පත් කර තිබෙනව.''

''හාහ්, වැදගත් දෙයක්. ගුරුලූපොත ගැන මා අසා තියෙනවා. මන්තර පොත තැන්පත් කර ඇති සීතා ලෙන තිබෙන්නෙ කොහෙද? ඇයි එතැනට ගුරුලූපොත යැයි කියන්නෙ?'' මා ඇසුයේ ඉපැරණි ගම්වල නම් තුළ එම පළාතෙ ඉතිහාසය සැඟවී ඇතැයි සිතීමෙනි.

"එතැනට ගුරුළුපොත යැයි කියන්නෙ එතැන ගුරුළු මන්තර පොතක් නිදන් කර ඇති බැවිනුයි. රාවණා රජතුමා සීතා දේවිය ලංකාවට ගෙන ඒම ලක් වැසියන් බොහොම දෙනෙක් අනුමත කළේ නැහැ. ඒ බව රජතුමාත් දැන සිටිය. එබඳු සිත් අමනාප ඇතියවුන්ට රජ තුමාට කරුණු දැක්වීමට හැකියාවක් නැති බවත් රජ තුමා දැන සිටිය. ඒ නිසා සීතා දේවියට කිසියම් අතවරයක් සිදුවීමට ඉඩ ඇති බැවින් රජ-තුමා සීතා දේවියට රැකවරණ සැලසීමට සීතා දේවියට මන්තර පොතක් දී තිබුණා. ඒවා ගුරුළු මන්තර. සීතා දේවිය මන්තර කට පාඩම් කරගෙන ඒ පොත තමා නැවතී සිටිය ලෙනේ නිදන් කළා, ගුරුළු පොත නිදන් කළ තැන ගුරුළු පොත යැයි නම් වුණා.

රාවණ රාම හටනින් පසු රාවණ රජතුමා සියදිවි නසා ගෙන සීතා දේවිය රාම කුමාරයා අතට පත්වුනාම සීතා දේවිය තමාගේ පිරිසිදුබව සහතික කිරීමට ගින්නට පැන්නේ ඒ පොතෙන් පාඩම් කරගෙන තිබුන ගුරුළු මන්තරයක් මතුරාගෙනයි. එනිසා සීතා දේවිය ගින්නෙන් දැවුනෙ නැහැ. ඇය ගින්නට පැනීමට දිවරුම් දුන් තැන අදත් දිවරුම්වෙල නමින් හැඳින්වෙනව.

සීතා දේවිය මන්තර බලෙන් ගින්නෙන් නොදැවී සිටිය බව කිසිවෙකු නොදත්තත් රාම කුමාරය ඒ බව දැනගත්ත. එනිසා තමා සීතාදේවිය ආපසු බාරනයට ගෙන ගියායින් පසුවත් සීතා දේවිය සමග එකට විසුවේ නැත්තේ." අමර හෙළි කළේ වටිනා වැදගත් රහසක්ය.

"අමරට කොහොම ස්තුතිකරන්නද මා දන්නෙ නැහැ. අමර හෙළි කළේ මෙතෙක් මෙලොව කිසිවෙකු නොදත් රහසක්. එහෙමනම් රාමායනයෙ ලියා ඇති හැටියට සීතා දේවිය ගින්නට පැන්න එකත් ඇත්ත. ගින්නෙන් පිළිස්සුනෙ නැති බවත් ඇත්ත. එය සිදුවුනේ කොහොමද කියා කවුරුවත් දැනසිටියෙ නැහැ. හැබැටම රාමායණයෙන් අපේ ඇත්තන් ගැනත් රට ගැනත් ලියා ඇත්තේ පහත් විදියට. අමරට මගෙන් නොවක් තුති." මා කීයේ ඉතා හිතින්ම ය.

''මහය මට තුතියෙන් වැඩක් නැහැ. මට පින් දෙන්න. අපේ දූ ය මෙනුවෙන් පින් දෙන්න. ඔබ පින් නොදුන්නත් මට පින් සිදුවන බව මා දන්නව. මා යහපත් දෙයකින් ඔබේ සිත පිනවූවා. ඔබේ සිත පිනවීමෙන් මගේ සිතත් පින වුනා, එය තමා පින. පින් කිරීම ඉතා පහසුයි. පිනේ නියම පල ලැබෙන්නෙ ඒ ගැන සිතීමෙනුයි. දැන දැන පින් කිරීමෙනුයි. අප කරන හැමදෙයක්ම කළේ පින් තකාඩ්. ඔබත් ඒ අනුව පින් කරන්න. එයින් ඔබට පල නෙලිය හැකියි.'' අමර දෙසුවේ මෙනෙහි කළ යුතු බණක්ය.

''ඔව් අමර, මට දැන් වැටහුනා. ඔබට පින්. රාවණ රජතුමා ගැනත්, රාවණ රාම කතාව ගැනත් අප දැක ඇත්තේ එක පැත්තක් පමණයි. ඔබ වැන්නන්ට එහි අනිත් පැත්තත් පෙන්විය හැකියි. ඔබ දත් කරුණු සියල්ලම මට දැන ගැනීමට හැකිවේයැයි මා පතනව.'' මට ඇවැසි වුයේ ඒ වැයිගිය හර බර අතීතය ගැන තව තවත් කරුණු දැනගැනීමට ය.

''ඔව් බාදුරු, මා දත් බොහෝ දේ කිව යුතුව තිබෙනව. ඒ ඔබට අළුතෙන් යමක් කීමට නොවෙයි. ඔබත් දන්න එහෙත් මා මෙන් ඒකම අත් බැවක රැඳී නොසිට අත්බැව ගණනාවක ඉපිද එයින් ලැබූ අත්දැකීම් වලින් ඔබේ පැරණි මතක සටහන් යටපත්වී තිබෙනව. ඒවා මතුකර නැවත මතක් කරළීමට මට හැකියි. මට පමණක් නොවෙයි, මෙහි සිටින තවත් සගයන් බොහෝ දෙනෙකු දත් බොහෝ දේ ඔබට දත හැකියි. ඒ අයත් දැන් ඔබ වටේ ඉන්නේ ඔබට කතා කිරීමටයි....''

''කව්ද කව්ද ඒ ඉන්නෙ? මෙතන එහෙනම් ඔබ හැර තවත් අය ඉන්නව.? කවුද ඇයි ඒ අය මට පෙනෙන්නෙ නැත්තෙ? ඇයි ඒ අය මට කතා කරන්නෙ නැත්තෙ'' නොසන්සුන්ව මා ඇසුවා.

''හා හා කලබල වෙන්න එපා. ඔබට ඒ අය පෙනෙන්නෙ නැත්තෙ ඔබ මා සමග කතා කරන්නෙත්, මා දකින්නෙත් ඔබේ කයින් නොවෙයි, ඔබේ මනසිනුයි. දැන් මෙතන ඉන්නව දිගා, රණා, බනා, සූකර, මකර ආදී ක්ෂිප දෙනෙක්. දන්න

හැම දෙයක්ම වගේ බඳුරුත් දන්නව. නමුත් වෙනස නම් ඒව ඔබ දන්න බව ඔබ දන්නෙ නැහැ, නමුත් ඔබ කියන කරණ හැම දෙයක් ම ඔවුන්ට ඇහෙනව. පෙණෙනව. ඔබ සිත පුහුණු කළොත් ඕනෑම වෙලාවක අප හමුවිය හැකියි,'' අමර මට කීවෙ ගුරුවරයෙකු ගෝලයෙකුට කරුණු පැහැදිලි කරණ ලෙසටය.

''හැබෑටම අමර ඒ කාලෙ නම් කොතරම් ලස්සනද? කෙටි නම් කීමටත්, මතක තබා ගැනීමටත් පහසුයි. හැබෑටම මටත් ඒ අතීතයට යාමට හැකිනම්.'' මා සුසුම් හෙළුවා.

''අමර, ඒ කාලෙ බෙහෙත් ගැන මහම දැනුම තිබූ තැනැත්ත ඔබ නොවැ, මහාකාල රුසිතුමා ළඟට දෙවැනි තැන ලැබුනේ ඔබටයි. අදිසි දිවියක් ගෙවමින් අප අතර සරමින් සිටින ඔබට එද වගේම අදත් ලැබිය යුත්තෙ වැදගත් තැනක්. ඒ අනුව මෙකල අපි භාවිතා කරණ බෙහෙත් එකල බෙහෙත් සමග සසඳා බැලීමක් ඔබට කළ හැකියි. ඒ ගැන යමක් ඔබට කිව හැකිද? එයින් අපට මහත් සේවයක් වනු තෙ අනුමානයි.'' මා අමරගෙන් එසේ විමසුයේ අප නොදන්නා අපට නොපෙණෙන පැත්තක් ගැන දැන ගැනීමටයි.

''බඳුරු, මිනිස් සිරුරට වැළඳෙන ලෙඩ රෝග ගැන සිතනවිට අප කල්පනා කළ යුතු වැදගත් කරුණක් තමා ඒ මිනිසා හැදී වැඩී දිවි ගෙවන පරිසරයත්, ඒ මිනිසා ගේ ජිවන රටාවත් ගැන. මිනිසා වනාහි පරිසරයේ නිපැයුමක්. මිනිසා පරිසරයෙන් ඈත්වී දිවි ගෙවීමට පටන් ගැනෙන විට එතැන ඇති වන්නේ ගැටුමක්. ගැටුම ඇවැසියි. නමුත් අන්ත ගැටුම් යනු වැනසීමයි. එනිසා අප ලෙඩ රෝග වලට පිළියම් යොදන විට පරිසරයෙන්ම ලබාගත් බෙහෙත් යෙදීමෙන් වැඩි පල ලැබෙනව. අපේ කාලෙ අපි බෙහෙත් කළේ අටවිදි බලවේග එක් කිරීමෙනුයි. දැන් එසේ කිරීමක් නැහැ. රොවකට බෙහෙත් කිරීමේදී රොවීන් පෙළෙන්නාගේත්, බෙහෙත් දෙන තැනැත්-තාගේත් සිත් වැදගත් තැනක් ගන්නව. මෙම බෙහෙතින් රොව සමනය වනු නියතයි යන තිර ඇදහිම බෙහෙත් දෙන තැනැත්තාගේත්, බෙහෙත් ලබන තැනැත්තාගේත්

දෙසිතෙහිම බලවත්ව පැවැතිය යුතුයි. ඒ සමගම එයට අදිසි බලවේග යොමු කිරීමකුත් කළා. තමා උපන් පරිසරයෙ බලපෑම් මිනිසා තුළ පවතිනව. පරිසරයෙන් සැතපුම් දහස් ගණනක් ඈතින් ගෙනෙන බෙහෙතට වඩා පරිසරයෙන්ම යොදු ගන්න බෙහෙත් වඩාත් පලදායක වනව. මේ අතින් එදත් අදත් අතර බලවත් වෙනසක් තිබෙනව. අද ඇත්තෙ ඒ දෙක අතර නදබල ගැටීමක්. දෙක අතර තරහයක්.

ඉතින් බදුරු, මා ඔබ සමග සෑහෙන වේලාවක් කතා කළා. ඔබ හමුවීමට ආ තව කිහිප දෙනෙක් මෙහි ඉන්නව. ඒ අයටත් තැනක් දිය යුතුයි. අහමුවෙන් ලත් වරමකින් ඔබටත් උපරිම පල නෙලා ගැනීමට ඉඩ දිය යුතුයි. එයින් ඔබට පමණක් නොවෙයි, අප කතා කළ දේ අහන අයටත් අපේ දූයටත් ඉමහත් සේවයක් වනු නියතයි. ඉතින්, බදුරු මට අවසර. නැවත හමුවෙමු, ආසිරි, බදුරු ආසිරි.'' ඒ අමර මගෙන් සමුගත් සැටියැ.

''මහත්තය, . . .මහත්තය, . . . මහත්තයෝ. . . . .'' කොග්ගලගෙ බිරුසන් දීමෙන් මම අවදි වීමි. මා මර නින්-දකට වැටී සිටි සැටියැ.

''අනේ හොඳා මහත්තයෝ, බොහොම හොඳා, මා රැක බලාගන්න ඉන්න තැනැත්ත මර නින්දෙ.'' මහත්තය නිස්සබ්ද නිසා කතා කළා, කතා කළා, සද්දයක් නැහැ. ආපූ ඇත්තෙතා මහත්තයත් අරගෙන ගියාද කියල බයේ තමා මා හයියෙන් කෑ ගැහුවෙ.'' තිළමෙ කියාගෙන ගියා.

දූෂ් පිස දමමින් මම මා අසල පැදුරේ වැතිර සිටි බණ්ඩා දෙස බැලිමි. බණ්ඩාද මරනින්දේය. අදිසිව කිහිප දෙනෙකු එම කාමරයේ සිටි බව මා දන සිටියත් එහි වූයේ මිනිස් සිරුරු තුනක් පමණි, ඒ, බණ්ඩාත්, කොග්ගලත්, මමත් පමණි. මට අරක් ගත් මළ යකෙකු නොවූවත් කොග්ගලගේ සිරුර අරක්ගෙන සිටි තිළමේද, බණ්ඩාගේ සිරුර අරක් ගෙන සිටි මකරද එහිවූ බවද මම දන සිටියෙමි.

කාමරය තුළ අදිසිව සිටියවුන් ගැන සිතුන විට මගේ සිතට නැගී ආයේ වරක් කොකාවල මහත්මිය කී දෙයකි.

''අනේ බුදු මහත්තයෙනි' මේ එකෙක් ඇවිත් තියෙන කරදර මදිවට තවත් ගෙන්නන්නද හදන්නෙ? ඇ එසේ කීවේ වරක් එදින රෑ මා බැලීමට නව කිහිප දෙනෙකු අතීතයෙන් පැමිණෙන බව නිළමේ කීවිටය.

මකරට අමතරව ජන්තුන්, දිගාන්, සූබාන් අදිසිව එහි සිටි බව මම දනිමි. මා ඔවුන් මනැසින් දුටුවද මසැසින් නොදුටිමි. එහෙත් මාද ඔවුන් අතරේම ඔවුන් සමඟ එකම කුටියක සිටින බව හැඟීමෙන් දනිමි.

ඇත්ත වශයෙන්ම මහ රෑ කාමරයකට වී භූතයින් පිරිවරාගෙන මා කරණ විකාරය කුමක්ද?

# රාවණ යුගයේ මිතුරන්

ඇත්ත වශයෙන්ම අදිසි බලවේග හෝ භූතයින් හෝ පිළිබඳව මට කිසිම අත්දැකීමක් නොතිබිණ. එහෙත් ඒවා ගැන කොතෙකුත් කතා අසා තිබුණි. භූතයින් නම් විශ්වාස නොකළහැකියැයි මා අසා ඇත. යම් හෙයකින් උන් එකෙකු හෝ මා කෙරෙහි උරණ වුවහොත් මගේ තත්වය කුමක්ද? මම මන්තර ගුරුකම් හෝ භූත දමනය හෝ පිළිබඳ කිසිවක් නොදත්තෙමි. කෙසේහෝ ඒවා මා බියෙන් හෝ සැකෙන් හෝ වෙළී ඇතැයි ඔවුන්ට දැනගැනීමට ඉඩ නොතැබිය යුතුව තිබූ බව පමණක් දනිමි. මෙසේ දහසක් සිතුවිලි මසිතෙහි හොල්මන් කරද්දී ත්‍රාසයත්, භීතියත්, සැකයත්, අසහනයත් මා වෙළා ගනිද්දී නිළමෙගේ කටහඬ ඇසීමෙන් මා තිගැස්සුණා.

''මහත්තය, මෙන්න තවත් කෙනෙක් ආව. ෂාහ් හරි හැඩයිනෙ, නියම පුරුෂයෙක්. කලින් දවසක මට එයා සීගිරියේදී හමුවුණා. එදා එයා ගැන විස්තර ටිකක් මට දැනගැනීමට ලැබුනා. කොටි දඩයමකදී අවියක් නැතිවම

කොටියකු මෙල්ල කරල බෙල්ල මිරිකල මැරුවලු. එයාගෙ නම ජනක.'' නිලමේ කියාගෙන ගියේ මා පමණක් නොව ඔහුද ඒ අතීතයෙන් ආවුන් හඳුණන බව පෙන්වීමට මෙනි.

''ජනක විතරක් නොවෙයි බඳුරු, තවත් අය මෙහි ඉන්නව මේ ඉන්නෙ දිගා. දිගාත් ඒ වගේම හපනා. මතක නැතිද දවසක් දා මහබැද්දෙදි ගෝනෙකු පසුපස එලවගෙන ගිහින් පස්ස දෙගාතෙන් අල්ලගත්ත හැටි. රාහු අසුර වගේ උසට උසේ හිටියට වැඩටත් දස්සය. ඇයි දිගා කට ඇරගෙන බලා ඉන්නෙ? බඳුරු අඳුනන්න බැරිද?'' ඒ ඇසුවේ මකර ය.

එසියල්ල මට ඇදහිය නොහැකි තරම් විය. එහෙත් එදින රෑ එකොළහමාරට වැසූ පසු කාමරය තුළ සිදුවූ දේ අනුව මා එම ජවනිකාවෙහි කිඳා බැස සිටි බැවින්–ඔවුන් සමග ම ජිවත්වූ බැවින් ඒ කිසිවක් සැක කිරීමට හෝ හරි වැරදි සිතීමට අවසරයක් නොවින. ඔවුන් සිරුරු රහිත සිතුවිලි පරපුරක් පමණක් ඇතිව ජීවත් වන්නවුන් යැයි මා සිතුවද ඔවුනොවුන් ඇමතූ සැටියෙන් මට හැඟීගියේ ඔවුන්ටද අපට මෙන් සිරුරු තිබූ බවක්ය. මෙය මට මහත් ගැටළුවක් විය. ඒ සමගම මාද ඔවුන්ගෙන් කෙනෙකුය යන හැඟීමද ක්‍රමෙන් වැඩෙමින් තිබිණ. ඔවුන් කී දේ මා අසත් අසත්ම මට හැඟී ගියේ මාද ඔවුන් සමගම දිවි ගෙවූ, දැනුදු ඔවුන් සමගම දිවි ගෙවන කෙනෙකු හැටියටය.

''ඉතින් බඳුරු උඹේ යාළුවො කිහිප දෙනෙකුම ඒ අතීතයේ ඉඳලම ඇවිත් ඉන්නෙ උඹව බලන්නයි. අපි හැම දෙනෙක්ම එකතුවී ඇති නිසා දූන් නම රාවණ රාම හටන නැවත පටන් ගන්නත් සිතෙනවා.'' මා හිතු හැටියට ඒ කීවෙ මකරය.

''හහ්..හහ්..,හා බඳුරු උඹේ ඔය පස්කඳ (පංචස්කන්ද) නැතිනම් උඹත් නැවතත් අපේ කල්ලියෙ නොවැ. උඹට බැරිද ඔය පස්කඳ (පංචස්කන්ද) දාල ඇවිත් අපට එකතුවන්න? කමක් නැහැ. උඹ ඔහොම හිටපන්. ඒ කාලෙත් උඹ සිතුම්

නිසා අපෙන් වෙන්වෙල තපසට ගියා නොවැ.? ඒ වුනත් මෙහෙම වත් දූන් එකතුවන්න ලැබීමක් ලොකු සතුටක්.'' එසේ කීවේ මකරය.

ඒ ඇසෙත්ම මා තුළ සුළු හෝ සැකයක් ඉතිරිව තිබීනි නම් එයද තුරන් විය. එහෙත් මට තේරුම් ගැනීමට නොහැකිවූ ගැටළු සහිත තැන් ගැන විමසීමට එය කදිම වරයක් යැයි සිතිමි.

''මකර මා හරිම සතුටුයි මගෙ පරණ යහළුවො ටික වටකරගෙන ඉන්න. ඒ වුනත් මට ඒ අය එක් කෙනෙකුවත් පෙනෙන්නෙ නැහැ නොවැ. නුඹෙ කතාවෙන් මට තේරුණා නුඹලාටත් කෙනෙකුගෙන් තව කෙනෙකු වෙන්කර හඳුනා ගැනීමට හැකි සිරුරු ඇති බව. නමුත් කලින් නුඹ කීව, නුඹලට සිරුරු නැහැ කියල. තාම මට මේ ගැටළුව විසඳා ගන්න බැරිවුණා.''

''බඳුරු, ඇත්තෙන්ම කෙනෙකුට අතගාල බලන්න හැකි එහෙමත් නැතිනම් බරක් ඇති සිරුරු අපට නැහැ. අපට ඇත්තෙ සිරුරු සේයාවක් පමණයි, එම සිරුරු සේයාවන් අප අන්තිමට ගත කළ මිනිස් දිවියෙදි තිබූ සිරුරෙ හැඩ රුවයි ඇත්තෙ. ඒ සිරුරු මායාවක් පමණයි. එබඳු සිරුරු වලට කුසගින්න, වේදනාව ආදියක් නැහැ. අප මිනිස් දිවි ගෙවූ කාලෙ අපට හොඳ හැඩරුව ඇති සිරුරු තිබුන. කොටින් කියතොත් අපි හරි ලකයි. විස්තරව කියතොත් මිනිස්සු පමණක් නොවෙයි, අපෙ රටත් ලස්සනයි. ඒ කාලෙ දූන තිබුන වෙනත් රටවලට වඩා අපේ රට ලකයි.''

''මිනිස්සුත් ලකයි. ඇලදොලවලුත් ලකයි. කොටින්ම කියනව නම් මේ රටෙ හැම දෙයක්ම ලකයි. ඒ නිසා තමා මෙ රටට "ලක" යන නම හැදුනෙ. උඹත් ඒ ආදි ලකුන්ගෙන් පැවතෙන්නෙක්. දූන්වත් නුඹෙ සිතට උදමක් නැගුනද?'' මකර පැහැදිලි කළා.

දූ අබිමකින් මා කිලිපොලා ගොස් නොදැනුවත්වම ගතින් මම මෙහි වුවද සිතින් ඒ හරබර අතීතයට ඇදුනෙමි. මමද ඔවුන්ගෙම කෙනෙක් විමි, දූන් දූන් මට හැඟෙනුයේ මා ඔවුන් සමඟම දිවි ගෙවූ දූනටද ඔවුන් සමඟම දිවි ගෙවන ඔවුන්ගේ කණ්ඩායමේම කෙනෙකු හැටියටයි, මසිතෙහි ඉතිරිව තිබූ සුළු බිය හෝ සැක හෝ සහමුලින්ම තුරන්වී ඔවුන් සමඟ සමානාත්මතාවයෙන් කතා කිරීමට මම දිරිමත් විමි.

''හරි, හරි මට දූන් වැටහෙනව. අවුරුදු දහස් ගණනකට පසුව නුඹලගෙ හොඳම යහළුවෙකු බැලීමට නුඹල ආව. උඹල ඒ යාළුවට මොනවද ගෙන ගෙන ආවෙ?'' විහිළුවට මෙන් මා ඇසුවා.

''මෙන්න රකෝ හරි කතාවක්. (රක් ගොතෙහි වූ සගයෙකු ඇමතූ සැටිය, ඒ. අද යකෝ කියනු සේම එද යහළු රකුන් ඇමතුවේ රකෝ කියා ය.)

කාමරය තුළ මහ හඬින් කවුදෝ සිනා සුණි. ඒ ඔවුන්ගේ කෙනෙකි. ''ඒ කාලෙ හිටිය අය නම් කවිරුවත් බලන්න එනවිට ආව තැනැත්තට සලකන්නෙ ආව එකා ගෙනා දේ අනුව නොවෙයි, ආව එකාට ගෙදර එකා හොඳින් සලකනව. ඒක තමා රකු වත. කොහොම වුනත් අපි ආවෙ හිස් අතින් නොවෙයි. බඳුරුටත්, අපේ පරපුරෙන් පැවතෙන ලකුන්ටත් දූන් අය නොදත් පැරණි තොරතුරු නමැති තෑග්ග අරගෙනයි. උඹට ඕනැයි කිවනෙ ඒ කාලෙ අපේ දූය ගැන විස්තර. අපි ඒව ගෙනාව. ඒ තොරතුරු නුඹත් නොදන්නව නොවෙයි. නමුත් නුඹෙ යටි සිතේ තැන්පත්ව ඇති ඒ දූනම ආත්ම ගණනාවක් මිනිස් දිවි ගණනාවක ඉපදී මැරී නැවත ඉපදීමෙන් යටපත්ව තිබෙනව. අපි එද මිනිස් දිවි ගෙවා ඉන් පසු අද දක්වා ගෙවන්නෙ එකම දිවියක්. එනිසා එම දූනුම අපේ සිත්වල පිළිතුරුව තැන්පත්ව තිබෙනව. අපි ආවෙ ඒ විස්තර නුඹටත් අපේ පරපුරටත් දී යන්න. ඒ විස්තර නුඹට විනා වෙන කිසිවෙකුටත් ලබා ගැනීමේ වාසනාව නැහැ'' ඒ මකර වියහැකියි. ''කොහොම වුනත් නුඹ අපෙන් ලබන විස්තර සියල්ලම හැම කෙනෙකුගෙම අතට පත් කිරීම නුවනට හුරු නැහැ. එය තෝරා බේරා ගැනීම බඳුරුට බාරයි.''

''බොහොම හරි මකර. කිසිවෙකු නොදන්න එම විස්තර ලබා ගෙනත් අපේ දූයෙන් අපේ අතීතය වසන් කර තැබීමත් අපරාධයක්. ඒ වගේම එම විස්තර අයුතුලෙස යොදන අයගෙ අතට පත් කිරීමත් අපරාධයක්.'' මා කීවේ තරමක් කල්පනාකාරීවයි.

''ඔව් බදුරු, අප දෙන විස්තර අතර අතීතයෙ දිවි පැවතුම් රටාව පමණක් නොවෙයි, අපේ මහා රාවණ රජතුමා සතුව තිබු මිණි, මුතු රත්, රුවන් ගැනත් සඳහන් වනු ඇත. එබඳු විස්තර වස්තු ලෝබයින් අතට ගියොත් එය මහා විනාසයක්. දූත් ඉන්න අය ඉස්සර අය වගෙ නොවෙයි. මහා තන්හා සහගතයි. එනිසා අපේ දූය සතු වස්තු ගැන ඒ අයට හෙළි කිරීමට අපත් අකැමැතියි.'' එසේ කීවේ මකර නොව දිගාය.

''එහෙනම් මකර, වස්තුව ගැන සඳහන් නොකර අවුරුදු දහස් ගණනක් පැරණි අපේ ඉතිහාසය නමැති ජාතික වස්තුව මට දෙන්න බැරිද? ඒ වස්තුව නම් කා අතරත් බෙදු හැරීමෙන් මහත් ජාතික සේවයක් සිදුවේය යනු මගේ අදහසයි.

''ගැලවෙන්න බැරි ලෙසට බදුරු මා කොටු කළා. බදුරුගෙ අදහස හරි. හොඳයි බදුරු නුඹට උවමනා විස්තර මොනවද?'' මකර ඇසුයෙ මගේ බසට අවනත වෙමිනි.

''මට උවමනා කරන්නෙ රාවණ රජතුමා ගැන, ඒ කාලේ රට ගැන, සිරිත් විරිත් ගැන, පාලන ක්‍රම ගැන. ඇදහීම් ගැන. ඒ ආදි විස්තරයි. ඒවාට තමා ඉතිහාසය කියන්නෙ. කොටින් කියනව නම් අවුරුදු දහස් ගණනකට පෙර සිටි මිනිසුන් ගැන, රට ගැන, පාලනය ගැන කතා කිරීම ඉතිහාසයයි. අපිත් රාවණ රජතුමා ගැනත්, සීතා දේවිය ගැනත් ඕපාදූප කතා කරමු. ඒව ලියල තිබුනම ඉතිහාසයලියා තැබුව වෙනව. රාවණ රජතුමා රජ පැමිණි දිනය මකරට මතකද?''

''ඔව් මට මතකයි. එද රටේ ලොකු උත්සව, සැණකෙළි තිබුණ. රාවණ රජතුමාට පෙර කලි නම් හෙළ රජකෙනෙකු සිටිය. ඒ රජතුමා රජවූ දින සිට තමා දින ගණන් ගත්තෙ.

කලි රජතුමා රජවෙලා, වසර සියවස් දහහතරකට පසුව ඇති- වුන හිරු රාහු යුදෙන් හිරු පැරදී ලෝ අඳුරු කළ දිනයට පසු දස හඳක් ගෙවී තෙවක් අළුයම ඉරාණ මහ රකුට කැපකළ මහකලි රකුවිමනෙදී රජ අඳුන් අරා දස ඔටුනු පැළඳුවා''

''ලක්පුරය අසල පිහිටි මහාකලි රකුවිමනෙ සිට රජ පෙරහරින් සිහගිරියෙ පිහිටි මාලිගයට එතුමා සැපත් වුණා. රාවණ රජතුමාට නම් බොහොමයක් තිබුණ. හී දර, අසි දර, විදුදර, හිසර, තිලෝනා, සුරරුපු, මේ නද, හරහුරු, දසිස්, සිතාදර ඉන් සමහරක්. රාවණ රජතුමා රාවණ රජ පෙළ- පතේ කෙනෙක්. රජ වීමට පෙර නම රණබා. රාවණ යනු පෙළපත් නමයි.'' මකර කියාගෙන ගියා.

''කලි රජතුමා රජවුන දවස යැයි කීවම මට තේරුනේ නැහැ මකර. අදට වසර කීයකට පෙරද කියා කීවොත් පැහැදිලියි.'' ගැටළුවක් ලිහීම පිණිස මා ඇසුවා.

''අපි ඒ කාලෙ වසර ගණන් ගත්තෙ හඳ වසරිනුයි. අදින් හඳ වසර පන්දහස් හත්සියයකට පෙරයි රාවණ රජ තුමා රජවුනේ. රාවණ රජතුමාගෙ පිය රජතුමාට දේවීන් කිහිප දෙනෙකු සිටිය. ඉන් වැඩිමහළු දේවියගේ පුත් කුමරා තුබෙර. කුබෙර ලකේ අගනුවර වූ ලක් පුරයෙ රජකළා රාවණ රජතුමාගෙ පිය රජතුමා රජ කළේ බලන්ගොඩ පෙදෙසෙ රක්වාන නුවර. එම නුවර පිහිටියෙ රෝහුන් දෙස නොහොත් රොහුන පෙදෙසෙයි. එකල අපි එම නුවර හැඳින්වූයෙ රක්ආන යන නමිනුයි. එහි තේරුම රක් ගොතුන්ගෙ ගම යන්නයි. රක් ආනත්, බලන්ගොඩත් ඒ කාලෙ රකුන්ගේ බලවත් නගර. රණබා කුමරු ඒ පළාතේ පලාත්බද රජෙකු වුණා. මහාරාවණ නොහොත් සක්විති රාවණ වුනේ ලකත් තවත් රටවල් නවයකුත් එක සේසත් කර ඔටුණු පැළඳීමෙන් පසුවයි. රෝ, රා, හර, හිරු යන වදන් හිරු හැඳින්වීමට යෙදුන. වන්න කියන්නෙ පරපුර. රාවන්න නම් වුනෙ හිරුගෙ පරපුරෙන් පැවැත ආවුන්යැයි හැඳින්වීමට

රාවන්න යන්න නිතර සඳහන් වුනේ රාවණ ලෙසටයි. හෙළ පරපුරත් එහිවූ රාවණ පරපුරත් ඇතිවූයේ හිරුගෙන් මිහිමත හෙළුන හරින් නොහොත් ශක්තියෙන් යැයි අපේ ඇදහීමයි. ඒ අනුව අපි ඈත අතීතයෙ පටන්ම හිරු වැඳීම කළා.

හෙළයා හැඳුනේ හිරු හෙලූ හරින්ය යන ඇදහීමට දුන් ජන කතාවකුත් තිබෙනව. එය මෙසේයි. ඈත අතීතයෙ මිහි මත මිනිසුන් ඇතිවීමට පෙර සිටම අපේ රට ඉතා ලකයි. ඒ කාලෙ හිරු දෙවිඳුගෙ පුත් කුමරුවොත් හඳ දේවියගෙ දු කුමරියොත් කෙළිදෙලෙන් ගතකිරීමට ලකට එනවලු.

උදා හිරු නගින විට හිරු කුමරුන් හිරු රැස් ඔස්සෙ සමනල කඳු මුදුනට බැස දිවා කල මෙහි ගතකර සැඳෑ සමයේ හිරු බසිනවිට හිරු රැස් ඔස්සෙ ආපසු හිරු වෙත යනවලු.

ඒ විදියටම හඳ කුමරියොත් සැඳෑ යාමයෙ සඳ නැග එන විට සඳ රැස් ඔස්සේ සම නල කඳු මුදුනට බැස කෙළිදෙළෙන් රැය ගෙවා උදෑසන බටහිරින් සඳ බසිනවිට සඳරැස් ඔස්සෙ ආපසු යනවලු.

එක් දිනක් ආදි නම හිරු කුමරුට ආපසු යාමට හිරු බැසීමට පෙර කඳු මුදුනට ඒමට නොහැකිව කඳු මුදුනෙ නතර වුනාලු. සැඳෑ සමයෙ නැග ආ හඳ රැස් ඔස්සෙ ආ ඊව නම හඳ කුමරියක් ආදි දැක කතා බහට වැටුනාලු. යහළු වී දෙදෙනාම ආපසු නොගොස් කඳු මුදුනෙ නතර වුනාලු. පසුදින ආදිගෙ සහ ඊව්ගෙ යහළු යෙහෙළියන් පිරිසකුත් ඒ දෙදෙනාට එක්වුනාලු.

තම කුමරුවෙක් මිනිස් ලොව ලක තුළ නතරවී ඇති බව දැනගත් හිරු රජු එසේ නතරවූ හැම දෙනාටම ආපසු ඒමට අණ කළත් ගියේ නැතිලු. ඒ ගැන උරණ වී ඊට පසු දින හිරු නැගී ආයේ කෝපයෙන් වෙව්ලමින්, නැගෙන හිර අහස තදරත් පැහැ ගන්වමින්. සැඩ හිරු රැසින් විඩා

පත්ව දහදිය හෙළමින් කඳුළු වැගිරූ කුමර කුමරියන් ද කල හඳ උදාවීමෙන් පසු හඳ දේවියගෙ අනුකම්පාවෙන් ඔවුන් හැමදෙනාම සිසිල් කළා. කුමර කුමරියන්ගෙන් ගැලූ දහදියත් කඳුළුත් එක්වී ගංගා හතරක් ලෙස හතර දිසාවට ගලා ගියාලු. ඒ සතර ගංගා නම් කළු. වලවේ. කැළණි සහ මහවැලි.

හෙළ දූය ඇතිවුනේ එදා කඳු මුදුණෙදී එක්වූ හිරු කුමරුවන්ගෙනුත්, හඳ කුමරියන්ගෙනුත්ලු.

"හිරු හෙලු හිරින් හැදුනේ හෙළයායි." යන්න අපේ පැරැන්නන් නිතර කීව.

ඒ අනුව හිරු වැඳීමෙදීත්, රාවණ රජතුමාට ජය ගොස නැගීමෙදීත්, හරෝ හර...හරි හර...හරෝ හරා... ආදී හෙළ ගී ගැයුව.

"හරි, හරි. මකර, දූනුත් කතරගම දෙවියන් වැඳිමට යන සමහරෙක් "හරෝ, හරා කියමින් යන බව මා අහල තියෙනව. ඔය ආදි හරෝ හරා යන්නෙත්, දූන් කතරගම යන්නන් කියන හරෝ හර යන්නෙත් කිසියම් සම්බන්දයක් තියෙනවද?" මා ඇසුවේ තවත් විස්තර දූන ගැනීමටය.

"ඔව සම්බන්ධය මෙයයි. ලකෙත්, බාරතෙත් සිටිය ආදිමයන් හිරු දෙවියන් වැඳීම කළා. රාවණ රජතුමාත් හිරු පරපුරේ කෙනෙකු නිසා ඒ ගීතවලින්ම රාවණ උපහාරත් පැවැත්තුව. රාවණ රජතුමා මිනිස් දිවිය අවසන පරලොව ගොස් උපන්නෙ රකුලොවේ, රකුලොවේ ටික කලක් ගත කර නැවත මිනිස් දිවියකට පිවිසුණා. ඒ දිවියෙදී උපන්නෙ රුහුණු දෙශ කන්ද මාලිගයෙ රජ පවුලක. තරුණ වියට පත්ව කතුරු කන්දේ කුමාර නමින් හැඳින්වුණා. තරුණ වියට පත්ව මහා සේනාධිපතිකම කර ලකත් තව රටවල් පහකුත් යටත් කර මහසෙන් නමින් රජවුණා. කන්දෙ කුමාර නොහොත් මහසෙන් රජතුමා මරණින් පසු කන්දෙකුමාර නොහොත් කඳකුමරු නමින් දෙවි වුණා. ඒ නිසා එතුමාට උපහාර කිරීමට හරෝ හර ගීත ගයනව."

යක්, රක්, නා, දෙව් යන කොටස් වලින් සැදී සිටි හෙළයො බුදු දහම වැළඳ ගැනීමෙන් පසු මළවුන් පිදිමත් හිරු දෙවියන් පිදීමත් අඩුවුණා. ඒ නිසා හරෝ හර ගීතත් ඔවුන්ගෙන් ඇත්වුණා. මකර විස්තර කළේ ඉමිහත් බැතියකින්.

“මකර මා අසා ඇති සැටියට නම් කතරගම කඳකුමර නම් දෙවියන් ස්කන්ධ නමැති හින්දු දෙවියෙක්. දැනුත් කතරගම කඳ කුමර දෙවිඳුන්ට උපහාර දැක්වීමට හින්දු බැතිමතුන් අවුරුදු පතා කතරගම යනව. මකර කියන හැටියට නම් කතරගම දෙවිඳුන් හෙළ දෙවිඳෙක්. ඒ ගැන මොනවද කිව හැක්කෙ?” මා මකරගෙන් එසේ ඇසුයේ මෙතෙක් පැවති ඇදහීමක් හා බැඳී පවතින ගැටළුවක් නිරාකරණය කර ගැනීමටය.

“බදුරු, හෙළයා බුදු දහම වැළඳ ගැනීමෙන් පසුව හෙළ දෙව්වරු බොහොමයක් අපෙන් ඈත් වුණා. අපේ සිව්හෙළ සිව් වරම් දෙවිඳුන්ගෙන් දෙදෙනෙකුම දැන් හින්දු කරගෙන. හෙළ දෙවියන් ලෙස ඉතිරිව ඇත්තෙ සුමන සමන් දෙවියනුත්, විබිසන දෙවියනුත් පමණයි. කඳකුමර දෙවියන් ස්කන්ධ නම් වූ හින්දු දෙවියෙක් කරගෙන. උපුල්වන් දෙවිඳුන් හින්දු තෙමුහුනෙන් බලවත්ම දෙවියෙකු වන විෂ්ණු කරගෙන. මා එයත් විස්තර කර දෙන්නම්.

කඳ කුමර දෙවිඳුන්ගෙත්, රාවණ රජතුමාගෙත් සමානකම් බොහොමයි. රාවණ රජතුමාට බිසෝවරුත් දෙදෙනෙකු සිටියා ඒ හෙළ කුමරි කුඩා බණ්ඩිත්, භාරතීය සීතා දේවියත්. කඳ කුමරු නොහොත් මහසෙන් රජතුමාටත් දෙදෙනෙකු සිටියා ඒ හෙළ කුමරි, වලි යක් පරපුරේ වලි අම්මාත් භාරතීය යටත් විජිතයෙන් ගෙන ආ දේවානි අම්මාත්. රාවණ රජතුමාගෙ වාහනය වාරියක් වූ දඬුමොණරය. කඳ කුමරුගෙ වාහනය මොණරෙක්. රාවණ රජතුමා දසහිස් රාවණ නම්වූයේ ලක් රජයේත්, භාරතයෙ නව රජයකත් ඔටුනු හිමිවූ බැවින් ඔටුනු දහයට හිස් දහයකුත් නිරූපණය කළා. මහසෙන් රජතුමාට

ලක් රජයත්, භාරතීය පස් රජ්‍යකත් ඔවුනු හිමිවූ බැවින් ඔවුනු භයක් පැළඳීමට හිස් භයක් නිරූපණය වුණා. රාවණ රජතුමා භාරතීය රාම කුමරුගෙන් පරාජය ලැබූ නිසා එකල භාරතීයයන් රාවණ රජතුමාට සතුරු කම් කළ බැවින් ඊට වන්දි ගෙවීමක් ලෙස අදත් කඳ කුමර දෙවියන්ට උපහාර දැක්වීමට එන භාරතීයයන්ගෙන් පැවතෙන දමිල බැතිමතුන් සිරුරෙ කටු ගසා දස වද විඳිමින් ලේ හළමින් වන්දි ගෙවනව. රාවණ රජතුමාට හිස් දහයක් තිබුනත් අත් විස්සක් ඇති බව නිරූපණය කළේ නැහැ. නමුත් කඳ කුමරුගෙ හිස් දහයට අත් දොළොසකුත් තිබිය යුතුය. යන මතය මත අත් දොළොසකුත් නිරූපණය වුණා. අත් දොළොස එකතුවූයේ කඳ කුමර දෙවියන් හින්දු දෙවියෙකු වූ ස්කන්ධ දෙවිඳුන් ගෙන් වැසීමෙන් පසුවයි.

ස්කන්ධ නම් වූ හින්දු දෙවිඳුන් කුමරවරු සය දෙනෙකු එකට තද කිරීමෙන් එක් කුමරෙකු කළ දෙව් කුමරුන් සය දෙනෙකුගේ එකතු වීමක්. එහෙත් අත් දොළොසක් වුවත් පාද දොළොසක් ලෙස පෙන්වා නැහැ. දෙදෙනාම එක හා සමාන වූ බැවින් කඳ කුමර දෙවිඳුටත් හින්දූන්ගෙන් උපහාර ලැබුණා. එසේ වූයේ හඳුනා ගැනීමට නොහැකිවීමෙන් වූ වරදක්. දැන් තේරුණාද? හෙළයින් ලෙසින් අප උපහාර දැක්විය යුත්තේ හින්දු දෙවියෙකුට නොවෙයි, හෙළ දෙවි-යෙකුට.'' මකර මට පහදා දුන්න.

''මෙ විස්තර කියා දුන් ඔබට පින් මකර, අප නොදත් තවත් කොතෙකුත් දේ ඔබ දන්නවා ඇති. මා බොහොම ආසයි ඒව අහන්න. මා කැමතියි අපේ දූයේ අතීතය භාර අවුස්සන්න. දඬුමොණරය වගේ අහසින් යන වාහනයක් වසර පන් දහසකට පෙර නිපදවන්න ආදි හෙළයා කොත-රම් හපනෙකු විය යුතුද'' එම වදන් මගේ මුවින් නිකුත් වූයේ නිතැතින්මය.

''දඬුමොණරය ගැන කියනව නම් බදුරු, එය දිග කතා-වක්. හොඳයි එයත් මා කියන්නම්.'' මකර දිග කතාවක මුල පිරුවේ එසේය.

''බදුරු ඒ අතීතයේ ඔබත් අප සමඟ සිටි නිසා ඔබත් මේව දන්නව. නමුත් මේව ඔබ දන්න බව ඔබ දන්නෙ නැහැ. ඒ කාලයෙන් පසු ආත්ම ගණනාවක ඉපිද ඒ ලත් අත් දැකීම්වලින් ඔබේ අතීත මතක සටහන් වැසී ඇත. අප එසේ නොවෙයි. ඒ දිවියෙ මිනිස් දිවි අවසන් කිරීමෙන් පසු උපන් රකුලොවේ අප නාමත් දිවි ගෙවනව. එනිසා අපේ මතක සටහන් මැකී නැහැ. වෙනත් දිවි ගෙවා පැරණි මතක සටහන් පසුව ලත් අත් දැකීම් වලින් වැසී නැහැ.'' මා සිතූ හැටියට මකර එසේ කීවේ මාද ඔවුන්ගෙන්ම කෙනෙකු ලෙස සලකන බව කීමට යැයි මට සිතුනි.

''ඔව් මකර, ඔබේ සගයනුත් ඔබත් කොග්ගලට ආරූඪ වී මට කතා කළ වෙලේ මට තරමක සැකයකුත් ඇතිවුණා නමුත් දූන් නම් අප හැම දෙනම එකම රැහේ වුන් බව නිසැකයි.'' මා කීවේ මගේ නොවක් හැඟීමය.'' දූන් ඉතින් දඩු මොණරෙ කතාව කියන්නකො.''

''රාවණ රජතුමාගේ ලොකුපියා මහා කාල නම් රිසිවරයෙක් එතුමා රාවණ ඇල්ලෙ ගල් ලෙනක දිවි ගෙවමින් තපස් රැක්ක. එසේ දිවි ගෙවමින් යන්තර මන්තර, තන්තර, අදිසි බලවේග, වෙදකම් ආදිය ගැන සෙව්වා. එතුමා ඒවායේ අගතැන් පැමිණ දසවිදි සැත්තර වල කෙළ පැමිණියා. එතුමාට අහසින් යෑම, නොපෙනී සිටීම ආදියත් සිතූ විට-කදී සැතපුම් දහස් ගණනක් ඈත සිටින කෙනෙකුට පෙනී සිටීම, කතා කිරීම ආදියත් නොයෙකුත් හාස්කම් කිරීමේ කෙළ පැමිණියා. එතුමාට අතීතයත් අනාගතයත් බැලිය හැකියි. ඒ අනුව එතුමා දැන සිටියා, රණබා කුමරු රාවණ පරපුරේ මහා රාවණ නමින් රජ පැමිණ රටවල් දහයක් යටත් කර දසඔටුනු පැළඳ සක්විති රජ වන බව.

මහාකාල රුසිතුමා තනිවම ගල් ලෙනේ කාලය ගත කළ අතර එතුමාට කෑම බීම සූදනම් කර දීම, ඇවැසි දේ සපයා දීම ආදිය කළ කුසුම් නම් වනිතාවක් ගල් ලෙන අසල ජීවත් වුණා. ඇයට එකම පුතෙකු සිටියා. නම විකුම්

වික්‍රම් උපන් හපන් කාර්මිකයෙක්. වික්‍රම් නිතර කාලය ගෙවූයෙ රුසි තුමාගෙ ගල් ලෙනෙයි. ඔහු මහාකාල රුසි තුමාගෙන් නොයෙක් සෑත්තර හැදෑරුව. තරුණයගෙ ඇති දස්කම් නිසාම රුසි තුමා වික්‍රම්ට ඉතා ආදරෙන් සිටියෙ.

මේ තරුණය රුසි තුමාගෙ උපදෙස් අනුව මන්තර බලෙන් අහසින් යාමට ඉගෙන ගත්ත. ඒ කාලෙ ලකේ අගනුවර පිහිටියෙ ලක්ගල. ලක් ගල රජ කළේ රාවණ නොහොත් රණබා කුමරුගෙ නෑ සොහොයුරෙක් වූ කුවෙර. තරුණයා අහසින් රටේ හැම තැනම යන අතර කුවෙර පුර මහ ඇමතිගෙ දූවනියන් සමඟ ආදර බැඳීමක් ඇති කර ගත්ත. මෙයට මහ ඇමති තුමා කැමති වුනෙ නැහැ. එනිසා මහ ඇමති තුමා කුවෙර රජතුමාට ගතු කියා වික්‍රම්ගේ මතුරු බලෙන් අහසින් යාම තහනම් කළා.

තරුණයා මේ ගැන මහාකාල රුසිතුමාට දැන්වූවම රුසි තුමා කීව ''පුත නුඹට මතුරු බලෙන් යාම රජ අණකින් තහනම් කළා නම් එය පිලිපැදිය යුතුයි. මතුරු බලෙන් නැතිව යතුරු බලෙන් යාමට වාරියක් සෑදීමට මා උපදෙස් දෙන්නම්.'' තරුණයා රුසිතුමාගේ උපදෙස් අනුව අහසින් යාමට වාරියක් තැනුව. එය මොණරෙකුගේ හැඩය ගත් නිසා එයට දඬු මොණර යැයි නම් කළා.

එහෙත් අවාසනාවක මහත! එම රිය සෑදීමට ගත් දැව ගැනීමට ගස කපද්දී රුක් දෙවියන්ට කළ යුතු උපහාර පුද පූජා නොකළ බැවින් එම රියට සාපයක් වැදුන. රිය සෑදී-මට ඇතිවූ හදිසිය නිසාම පුද පූජා පැවැත්වීම තරුණයාට අමතක වුණා. එයින් එම රිය පරිහරණය කළ හැම දෙනෙ-කුම අසහනයට පත්වුණා. ගුටිබැට කෑවා.

එම රියේ ඉහලින් ඇති පෙති පහක් වෙයින් කරකැ-වීමේදී අහසට නැග පියාසර කිරීමට හැකි වුණා. රිය පියුමින් ඉහළ නගින බැවින් මහාකාල රුසිතුමා එයට නම තැබූයේ පියුම් රිය කියායි. එහෙත් එය පියාසර කිරීමේදී දැවයෙන් තැනූ මොණරෙකු වැනි වූ බැවින් එය පසිඳු වූයේ දඬු මොණරය

තමින්.'' මකර කියාගෙන ගියේ හරස් පැන නැගීමට ඉඩ නොතබමින්.

''ඔව් මකර, දඬුමොණරය ගැන රාමායනයෙ කියැවෙනව. නමුත් එහි කියැවෙන්නෙ දඬු මොණරය දෙවියන්ගෙන් ලැබුන දෙයක්ය කියා.'' මමද මගේත් දැනුම පෙන්වීමට කීවෙමි.

''බදුරු, ඔබ හිතන්න එපා රාමායනය ලියා ඇත්තෙ නියම කතාවය කියා. හැම කෙනෙකුම යමක් කියනවිට කියන්නෙ තමන් උසස් කරල. එය මිනිස් ගතියක්. ලක හා සබැඳි කතාවක් අපේ කතාවක් හැටියට අපේ පැත්තෙනුත් බැලිය යුතුයි. ඒ ටික කිරීමට බදුරුට දූන් වරම ලැබී තිබෙනව. එයින් නියම පල නෙලා ගැනීම ඔබට බාරයි. දූන් ඉතින් අපි කතාවට බහිමු.'' මකර කිවේ තරමක් වේගවත්වයි.

''හොඳයි දූන් ඉතින් අපේ කතාවට බහිමු. වීකුම් තරුණයා දඬුමොණරයෙන් ලක හැම තැනම සැරි සැරුව. වීකුම්ගෙ සිත් ගත් තරුණියක් බැලීමට ලක් පුරයටත් ගියා.

ලක්පුරයේ රජකළ කුවෙර තරුණ වීකුම්ට පහරදී වාරිය පැහැරගත්ත. කුවෙර රටවැසියන්ගෙ සිත් ගත් කෙනෙකු නොවෙයි. එනිසාම තමා ඔහුට කුවෙර නම පටබැඳුනෙ. පණ බේරාගත් වීකුම් කුවෙරගෙ අණසකත් ගරු නොකළ හබරුන් සිටි පෙදෙස වන හබරාණට පැනගත්ත. වීකුම් මහා කාල රුසිතුමා වෙත ඇවිත් මේ ගැන කිවත් රුසිතුමා දැනගත්ත රාවණ කුමරුට ලක එකසේසත් කිරීමට මහ හෙළිවී ගෙන එන බව. වහාම රක්වානෙ රජකළ රාවණ කුමරු ගෙන්වා කුවෙරට එරෙහිව සටන් මෙහෙයවීමට කීව. වැඩි අපහසුවක් නැතිවම රාවණ කුමරු කුවෙර යටත් කර රටින් නෙරපා හැරිය. සටනින් පැරදුන කුවෙර අසල්වැසි භාරතයට ගොස් මාලිගයක් තනාගෙන එහි කල් ගෙව්වා.

මහාකාල රුසිතුමාගේ උපදෙස් අනුව රාවණ කුමරු රට පුරා සිටි පෙදෙස් රජවරු වෙත පණිවුඩ යැව්ව, තමා ලක එක සේසත් කර ලක් රජ වන බවත්, ඊට අකැමැති යමෙකු ඇති නම් තමා හා සටනට එන ලෙසත් දන්වා.

සිහගිරියෙ මාලිගයක් තනාගෙන මැර කමින් දිවි ගෙවූ සිහපාල නැමැත්තෙක් හැර අනිත් හැම පෙදෙස් රජේකුම රාවණ කුමරු අගරද ලෙසින් පිළි ගැනීමට කැමැත්ත පළ කළා.

සිහපල් යක් රුහේ හබර නම් කොටසට අයත් කෙනෙක් හබර කොටස නිතරම යුදානම් හබයට නොහොත් සටනටයි. සිහපල් කොල්ල කරුවෙක්. පිටරටින් ආ වෙළඳුන් සිහපල්ගෙ අතවර වලටත්, කොල්ලකෑම් වලටත් ගොදුරු වුනා.

සිහපල් මන්තර කරුවෙක්. මන්තර බලෙන් වෙස් මාරු කිරිමටත් ඔහුට හැකියාව තිබුණ. ඔහුට සිටියෙ සටනට යන විට සිංහ වෙස් ගන්න හමුදවක්. එනිසා තමා ඔහු සිහිපල් නම් වුණෙ'' මකර විස්තර කළා.

''මකර ඔය කියන සිහ ගිරිය දැන් සීගිරිය නමින් හැඳින්වෙන පව්වද?'' මා ඇසුවේ සැක නොමැතිවම සීගිරිය හඳුනා ගැනීමටයි,

''ඔව් බදුරු, සිහගිරියටත් සිහපල්ටත් නම් කිහිපයක් තිබුන. සිහගිරියට සීගිරිය කියාත් කීව. සිවගිරි කියාත් කීව. එසේ කීවේ බාරතීයන්. රාවණ රාම හටනේදී මෙහි ආව බරතීයයන් රාවනාගෙ මාලිගය තිබුන පව්ව සිව දෙවියන් අරක්ගෙන සිටි තැනක් ලෙස සැලකුව. එසේ කීවේ රාම සමහ මෙහි ආවුන්ට එය ඔවුන්ගෙ දෙවියෙක් සතු තැනක් බව පෙන්වා එය ඔවුන් සතු කර ගැනීමට දිරි දීමටයි. අප සතු බොහෝ දේ හින්දියයන් ඔවුන්ගේ දේ ලෙස අපේ එවුන්ටත් කියා අපේ සමහර මෝඩයිනුත් ඔවුන්ගේ හැදි- යාවට ඇඳගත්ත.

සිහගිරියේ විසූ සිහපල් මංකොල්ල කාරයෙක්, අප රටට පිටරටවලින් වෙළඳාමට පැමිණි වෙළඳුන් සිහපල් නොහොත් සීපල් කොල්ලකෑව. ඔහුට නොයෙක් වෙස් ගත හැකිව තිබුන. වැඩියෙන්ම ඔහු ගත්තෙ සිහ වෙස්., සමහර විට නොයෙක් විකාර සිරුරු ඇති විරූපි මිනිසුන්ගේ වෙස් ගැන්නුව. එනිසාම පිටරට කතා ඇනිවුනා ලකේ ඉන්නෙ

යක්කුය කියා. ඇත්තෙන්ම ඔහු අපේ දූයට නින්දවක්. ඔහුගේ කොඩිය සිහ හොහොත් සිංහ කොඩියක්. දෙපයින් සිටගෙන දකුණතින් කඩුවකුත්, වමතින් පලිහකුත් ගත් සිංහයෙක් ඒ කොඩියෙ සටහන් කර තිබුණ,

රාවණ රජතුමා ලක එකසේසත් කිරීමෙදී සිහපල් පරදවා සීගිරි මාලිගය තම මාලිගය කරගත්ත. සිහපල්ගෙ කොඩියත් තමන්ගෙ කොඩියට එකතු කළා. රාවණ රජතුමාගෙ කොඩිය ඉරහඳ කොඩියයි. එය තමා රක් රුහෙ කොඩිය. එයින් පෙන්වූයෙ රක්රුහැ පැවතෙන්නෙ ඉරෙන් සහ හඳෙන් බවයි. එයත් මහ දිග කතාවක්. එයින් පෙන්වන්නෙ රක් රුහැ තමා හෙල රුහේ ආදිමයන් කියල'' මකර මඳක් නිහඬවිය,

''මකර මා ආසයි ඒ කතාවත් අහන්න. මකරට හදිසි නැතිනම් එයත් මට කියන්න.'' මා කීව.

''බඳුරු හදිසි ඇතත් දූය වෙනුවෙන් සේවයක් කළ හැකි නම් එය අප කළ යුතුමයි. එහෙනම් ඔබ අහන්න ආස නිසා එයත් කියන්නම. ඒ තමා අපේ හෙළ දූය පටන් ගැනීමටත් පෙර මෙලොව පළමු මිනිසුන් බිහිවුන හැටි. මා කලිනුත් කීව නොවැ ''හෙළය. හැදුනේ හිරු හෙලු හරින්ය'' කියා.''

''ෂාහ් හරි ලස්සනයි මකර කතාව. කොහොම වුනත් ඒ වචන ටික ලස්සනයි. හැම වචනයක්ම පටන්ගන්නෙ ''හ'' යන්නෙන්.'' නිතැතින්ම එවදන් මගේ මුවින් ගිලිහුනේ මකරට අවහිර කරමිනි.

''ඔව් බඳුරු ඒ වදන් ටික පමණක් නොවෙයි, ඒ කාලෙ අපිත් ලකයි, අපේ දූයත් ලකයි, අපේ රටත් ලකයි. එනිසා තමා මේ රටට ''ලක'' යන නම පටබැඳුනෙ. මා කියන මේ කතාවෙනුත් වැටහෙනව, අපේ රට ලක බව වෙනත් ලෝකවල ඇත්තොත් පිළිගෙන තිබුන. හිරු දෙවියොත් හිරු ලොව වැසියනුත් මේ රට ලක සේ පිලිගෙන තිබුන. ඒ නිසා හිරු දෙවියන්ගෙ දරුවො එනම් හිරු කුමරුවන් හැම දිනකම

උදේ හිරු පායාගෙන එනකොට අපේ රටට ආව, කෙළි සෙල්ලම් කරන්න. එසේ බැස්සෙ සමනල කඳු මුදුනට, සමනල කීවෙ වසරෙ හැම කාලයකම දෙපැත්තෙන්ම එන සුළඟ සම සේ ලැබෙන නිසයි. බදුරු දන්නවනෙ අපේ රටට වසරෙ හමසක් එක් පැත්තකිනුත්, අනික් හමස අනික් පැත්තෙනුත් සුළඟ හමන බව. ඒ අනුව රටේ එක් පැත්තකට සුළඟ ලැබෙන්නෙ හය මාසයකට පමණයි. අනිත් හය මාසේ අනිත් පැත්තට. නමුත් සමනල කන්දට එබඳු වෙනසක් නැහැ. එසේ වන්නෙ ඒ කන්දෙ පිහිටීම අනුවයි. එනිසාම එපෙදෙස ගස් වැල් ගංගා ඇල දොලත් සරුයි. ඒ හැම දෙයක්මත් ලකයි.

එපමණක් නොවෙයි. උදේ පායන හිරුත් සැඳෑවෙ බහින හිරුත් එකසේ පෙණෙන එකම කන්දත් සමනල කන්දයි. එනිසාම හිරු නැගී එනවිට ඇදෙන හිරු රැස් දහර ඔස්සේ හිරු කුමරු වෙත් කඳු මුදුනට බහිනව. දිවා කාලය කෙළි දෙලෙන් ලකේ ගත කර සැඳෑ යාමයෙ සැඳෑ හිරු රැස් ඔස්සේ ආපසු යනව.

ඒ වගේම සැඳෑ යාමයෙ හඳ නැග එනවිට හඳ කුමරියනුත් සමනල කඳු මුදුනට බැහැල රෑ තිස්සෙ ලක තුල කෙළිදෙලෙන් ගෙවා පහන්දොර බටහිරින් සඳ බහිනවිට ගිලෙන සඳරැස් ඔස්සෙ ආපසු යනමුත් හිරු කුමරයිනුත් සඳ කුමාරියනුත් කවදාවත් හමුවෙල නැහැ.

මෙහෙම යන අතර ආදි නම් හිරු කුමරුට ආපසු යන්න බැරිවුනා. ආපසු යාමට ඔහු කඳු මුදුනට ඒමට කලින් හිරු බැස ගිහින්. එනිසා පසු දින හිරු පායන තුරු කඳු මුදුනෙහිම රැය ගත කිරීමට ඔහු තීරණය කළා,

එදා සැඳෑ යාමයෙ සඳරැස් ඔස්සෙ සමනල කඳු මුදුනට බැස්ස රිවා නම් සඳ කුමරිය ආදි දැක්කා. දෙදෙනා හමුවී කතාබස් කිරීමෙන් යහළු වුනා. ඒ දෙදෙනාම තීරණය කළා ඒ අයගෙ ලෝකවලට ආපසු නොයන්න. පසු දින ආදිගෙ

යහළුවන් කිහිප දෙනෙකුම ආදි සමහ මෙහි නතරවීමට තීරණය කළා. එදින සැඳෑ යාමයෙ ආ තවත් සඳ කුමරියනුත් මෙහි නතර වීමට තීරණය කළා. එසේ නැවති පිරිස හිරු කුමරුවනුත්, සඳ කුමරියනුත් ඔවුනොවුන්ගෙ සහ කරුවන් තෝරාගෙන මෙහි නතරවීමෙන් ඇතිවූ පරපුරෙන් තමා හෙළ දූය ඇතිවූයේ.

තමන්ගෙ දරුවන් ගණනාවක්ම මෙහි රැඳී ඇති බව දැනගත් හිරු දෙවියන් ඔවුන්ට ආපසු එන ලෙස නියෝග කළත් ඔවුන් ආපසු ගියේ නැහැ. කෝපයට පත් හිරු දෙවියන් පසු දින නැඟී ආවෙ නැගෙන හිර අහස රත් පැහැ කරගෙන කෝපයෙන් වෙව්ලමින්. එදා පටන් අද දක්වාත් හිරු නැඟෙනවිට නැඟෙනහිර අහස රත්පැහැ ගැන්වෙනව. හිරු දෙවියො කෝපයෙන් වෙව්ලමින් නැග ඒම අදත් සිදු වෙනව. ඒ හිරු දෙවියන්ගෙ වෙවුලීමට තමා අපි හිරු-සේවයයි කියන්නෙ.

කෝපයෙන් වෙළුන හිරු දෙවියො කඳු මුදුනට තද හිරු රැස් එව්ව. එයින් රත්වී පිඩාවට පත් හිරු කුමරුවනුයි සඳ කුමරියනුයි ඩහදියෙන් නැවුනා, කඳු දහරාවල් ගලා ගියා. ඒ ඩහදියත්, කඳුළුත් කඳු මුදුනින් හතර දිසාවට ගංගාවන් හතරක් ලෙස ගලා ගියා. සැඳෑ යාමයේ සඳ දේවිය නැඟී ආවම හිරු කුමරුවනුත්, තම දරුවනුත් විඳි දුක දැකල කඳු මුදුන සිසිල් කරල වැසි වැස්සෙව්ව. වැසි ජලය අර ඩහ-දියයි කඳුළුයි සමග එක්වී මහා ගංගා වුනා,

බඳුරු ඔය කතාව අපේ මුතුන් මිත්තන්ගෙන් ලැබුන ජන කතාවක්. එහි සඳහන් වන්නෙ හෙළ දූයේ උපත. හෙළ දූය හිරුගෙනුත්, සඳුගෙනුත් උපන් නිසා තමා අපේ දූයේ කොඩියට හිරු සඳු යොදා ඇත්තෙ.'' මකර විස්තර කළා.

''ඔව් මකර දනුත් අපේ ජාතික කොඩියෙ සිංහ රූව යොදා තිබෙනව. සමහරවිට හිරුත් සඳුත් කල් යාමෙදී අයින් කර සිංහයා පමණක් ඉතිරි කරන්න ඇති. තවත් වෙනසක් නම් දැන් සිංහයා දෙපයින් සිටගෙන නැහැ. අතක් බිම

තබාගෙනයි ඉන්නෙ. පලිහකුත් නැහැ. ඊට මතකයි දඹුළුගලේ සිතුවමක කොඩියක දෙපයින් ඉන්න සිංහයෙකු ඉන්නව.'' මා කීවේ මකරගෙන් තවත් විස්තර දැනගැනීමේ අදහසින්.

''ඔව් බඳුරු හෙළයාට මුල අමතක වෙනකොට ඉර හඳ අයින්වුනා. දැය රැකීමට පණ නැති වන විට සිංහයා පලිහ පසෙක දමා අත බිම තබා විඩා හරිනව. තවත් ටික කලක් යන විට කඩුවත් පසෙකට දමා ඒ අතත් බිමනබාවි. සිංහහෙල වූ හෙල දැය අන්තයටම පිරිහෙනවිට හිටගෙන ඉඳීමත් එපාවෙලා බිම වැතිරේවි. ඉන් පසු සිත් හෙළයා සුන් හෙළයා වනු ඇත. ඒ තමා හෙළයගෙත් අවසානය.'' මකර එසේ කී විට එය අනාවැකියක්දෝ, සිතු මා තව දුරටත් විමසිලිමත් වුනා.

''මකර විහිළු කරන්නත් දන්නව වගෙයි.'' මා කීවේ සිනාහවක්ද නගමිනි.

''ඒ විහිළුවක්ම නොවෙයි බඳුරු, දුර දීග බැලීමක්.'' ඒ ගැන තවත් විමසීම නුසුදුසුයැයි මට සිතුනි.

''එහෙනම් මකර දැන් නටඹුන් වී ඇති සිංහගිරිය නොහොත් සීගිරිය කසුප් කුමරුගෙ ඉදිකිරීමක් නොවෙයි සිහපලුත් ඉන් පසු රාවණ රජතුමාත් ඉදිකළ සීගිරියයි.'' මට ඇවැසි වූයේ සීගිරිය ගැන විස්තර මකරගෙන් අසා දැන ගැනීමටය.

''සීගිරිය ගැන විස්තර කිරීමට දින ගණනාවක් කීවත් නිම කළ නොහැකියි බඳුරු. සැඳෑසමයත් ළංවිගෙනයි එන්නෙ මා සීගිරිය පැත්තෙ යාමත් ඇවැසියි. තව ටික වේලාවකින් මා එන්නම්. ආසිරි බඳුරු, ආසිරි.'' මකර මගෙන් සමු ගති.

මකර පැමිණියත් දිවාකල නිවී සැනසිල්ලෙ අපට අදහස් හුවමාරු කර ගැනීමට නොහැකිවේයැයි මා සිතුයේ දිවා කාලයෙහි කොග්ගල මහතා බැලීමට අසල් වැසියන් පැමි-ණෙන බැවිනි. නිවී සැනසිල්ලෙ අපේ සාකච්චා කරගෙන යාමට උපායක් යෙදීමට මා නිලමේගේ සහාය පැතුයේ කලින් වතාවකද කොග්ගල මහතා බැලීමට එන අමුත්තන් වැළැක්-වීමට නිලමෙට හැකිවූ බැවිනි.

''ඒක නොවෙයි නිලමෙ, දැන් මකර සීගිරි ගිහින් ඒවි. මකර ආවයින් පසු කොග්ගල මහතා බැලීමට එන අය නවත්වන්න නිලමෙට බැරිද?'' මම නිලමෙගේ උපකාර පැතුවෙමි.

''ආහ්! ඒක සුළු දෙයක්නෙ මහත්තය. දැන් අන්න කොග්ගල නෝනා කෝපි හදනව. දැන් කෝපි කෝප්පයත් අරගෙන මෙහි ආවම කියන්න, අනේ මිසිස් කොග්ගල ඊයෙ රෑ මොහොතක් නින්ද නැහැ. මා ගෙදර ගිහින් ටිකක් නිදාගෙන ඉඳල එන්නම්.'' කියල ඔය අම්මණ්ඩි මාව තනි කරල කොහොමටවත් මහත්තයට යන්න දෙන්නෙ නැහැ. මාත් කියන්නම් 'අනේ මහත්තයො එහෙනම් ගෙදර ගිහින් හැන්දෑවට එන්න, කියා. අපි බලමු කුමන්ත්‍රණයෙ ප්‍රතිපල.'' නිලමේ එසේ කියා අවසන් වත්ම කොග්ගල මහත්මියද වතුර වීදුරුවකුත්, කෝපි කොප්පයකුත් රැගෙන කාමරයට පැමිණියාය.

නිලමෙගේ උපදෙස් පරිදි මා ගෙදර යන බව කොග්ගල මහත්මියට කී විට ඈ එක්වරම කීවෙ ''අනේ මහත්තයෝ යන්න නම් එපා. කාමරේම නිද ගන්න ටිකක්. කාටවත් කාමරයට එන්න එපා කියල මා කියන්නම්. කොහොම හරි මාතරින් ඇඳුරු කට්ටිය එනතුරු අපිට ඇත්තෙ මහත්තයගෙ පිහිට තමා.'' කොග්ගල මහත්මිය කළේ ආයාචනයකි.

''හොඳයි එහෙනම මා හාන්සිපුටුවෙම ටිකක් නිද ගන්නම් එන අයට කියන්න කවුරුවත් මේ අහලකට ආවොත් නිලමේ කරදර කරයි. ටිකක් නිදගන්න දෙන්න කියා.''

''හොඳයි මහත්තයෝ'' කොග්ගල මහත්මිය එම වග කීම බාර ගත්තාය.

කොග්ගල මහත්මිය කාමරයෙන් ගිය පසු නිලමෙ මා ඇමතුවේ ජයග්‍රාහී ලෙසය.

''මේ නිලමෙ කළ දෙයක් වැරදුනේ නැහැ මහත්තයො''

මකර එනතුරු මම නිහඬ වීමි.

# සීගිරි විස්තර - ජන්තුගෙන්

කොග්ගල මහතාට නිලමෙ ආවේශ වූ දිනයේ සිටම කොග්ගල නිවසේ දිවා රෑ වෙනසක්නොවීය. හැම වේලේම දිවා රෑ වෙනසක් නොමැතිව ගෙදර අමුත්තන් දෙතුන්දෙනෙකු හෝ නොමැති වේලාවක් නොවීන. එහෙත් ඒ කිසිවෙක් ඇඳිරි වැටීමෙන් පසුව ගමේ තනිව එහා මෙහා නොගියහ. නිලමේගේ මිතුරු මළ යක්පිරිස් නිතර ගමේ සැරිසැරූ බව ඔවුන්ගේ මතය විය.

කාමරයෙන් පිටත සිටියවුන් හඬනගා කතා නොකළද ඔහුන්ගේ කුසු කුසු යන්තමින් හෝ කාමරය තුලටද නො ඇසුනා නොවේ.

''මහත්තය, මහත්තය නිදිද? මෙන්න තව යාළුවෙක් ඇවිත්. මකර නොවෙයි ජන්තු. ඔන්න මා අයිත්වුනා. මහත්-තයට ඕනැ දෙයක් කතාකරගන්න.'' එසේ කීවේ නිලමේය.

ජන්තු මට අමුත්තෙකු නොවේ. ජන්තු යන නම කිය-වෙත්ම මගේ සිහියට නැගී ආයේ අරවකුඹුරෙ උමගය. මා සිතුවේ උමග ගැන තවත් විස්තර ලබා ගැනීමටය.

''හාග් බදුරු, මා ආවෙ මකරගෙ පණිවුඩයකට. මකර මට කීව මහයට සීගිරිය ගැන විස්තර ඇවැසි බව. මකරට වඩා හොඳින් මා සීගිරිය ගැන දන්න නිසා මට කීව ඇවැසි විස්තර දෙන ලෙසට.'' එසේ කීවෙ ජන්තු ආරූඪ වූ කොග්ගල මහතාය.

''ජන්තු, මා හිතුවෙ මකර නැවතත් ඒවිය කියා. මකර මා සමඟ සෑහෙන වේලාවක් කතා කළා. සීගිරි ගිහින් එනවය කියා යන්න ගියා. මා හිතුවෙ මකර නැවත ඒවිය කියා. සීගිරිය ගැන විස්තර රැසක් දීමට මකර පොරොන්දු වුනා.'' මා එසේ කීවේ මට එවෙලේ ඇවැසිව තිබුනේ සීගිරි විස්තර බව ජන්තුට කියා ඔහු දත් යමක් අසා ගැනීමටය.

"මහය, සීගිරිය ගැන සියළු විස්තර කියනව නම් දින ගණනක් ගත වේවි. නුමුත් අපට තව ඇත්තෙ දින හතරක් පමණයි." ජන්තු කීවෙ තරමක් කල්පනාකාරීවයැයි මම සිතුවෙමි.

"ඇයි ජන්තු එහෙම කීවෙ, දින හතරකින් අපට වෙන්වීමට සිදුවෙනවද?" මා ඇසුයේ ජන්තු කී දෙය පැහැදිලි කර ගැනීමටය.

"මහය දන්නෙ නැතිව ඇති තව දින හතරකින් නිළමෙ බැඳ දැමීමට ඇදුරන් මෙහි එනව. නිළමෙ බැඳ දැමුවායින් පසු අපට හමුවීමට නොහැකියි." ජන්තු එසේ කීයේ ඔහුට අනාගතය බැලීමේ හැකියාවද ඇති සෙයක් දක්වමිනි. නිළමේ බැඳ දැමීමට මාතරින් ඇදුරන් ගෙන්වීමට පණිවුඩ යවා ඇති බවත්, එතෙක් කොග්ගල මහතා රැක බලා ගන්නා ලෙස කොග්ගල මහත්මිය මගෙන් කළ ඉල්ලීමත් මගේ සිහියට නැගින.

"ජන්තු මට සීගිරිය ගැන අතීත විස්තර දැනගැනීම ඇවැසි මෙන්න මෙ නිසයි. පොත පතේ සඳහන් අන්දමට සීගිරිය ගොඩනගා ඇත්තෙ කසුප් රජතුමායි. නමුත් මකර කී දේ අනුව සීගිරිය ගොඩනැගූ තැනැත්තා රාවණ රජතුමායි. සීගිරිය රාවණ රජතුමාගෙ වැඩක් හැටියට පොතපතේ සඳහන්ව නැහැ." මට ඇවැසි දෙය කෙළින්ම ජන්තු වෙත ඉදිරිපත් කළෙමි.

"මහය, සීගිරිය ගොඩ නැගුනෙ පොත් පත් ලිවීමට කලින්. ඒ කාලෙ අපට පොත් පත්වල ඇවැසියාවක් තිබුනෙ නැහැ. පොත පත නොතිබුනා නොවෙයි. තිබුනෙ කලාතුරකින්. පොත පතේ සඳහන් නොකළාට අපේ හොඳ මතකයක් තිබුණ. හැම දෙයක්ම පරම්පරා ගතව ආවෙ මතක සටහන් වලිනුයි. අනිත් එක, තිබුන පොත් පතුත් සතුරන් විනාස කළා. සුර අසුර හටනෙදී බොහොමයක් වැනසුව. සමහරක් බාරතයට ගෙනගියා. වණ්ඩ සිංහ නොහොත් විජය නවදැයක් බිහිකිරීමට අතීතය වැනසුවා. අනුරපුර යුගයේදීත් එ බ දු

වැනසුම් සිදුවුනා. සීතාවක යුගයෙදිත් අපේ පොත් පත් ගිනි තැබුව. අපර දිගින් ආ එවුන් අපේ පොත් පත් එහි ගෙන ගියා. ඒවනම් තාමත් එහෙ තියෙනව. නමුත් අපේ මතක සටහන් වැනසීම කළ නොහැකියි. සීගිරිය ගොඩනැගුවෙ කසුප් රජු නොවන බවට සාදක එමටයි. මා ඒ හැම දෙයක්ම පැහැදිලි කර දෙන්නම්.'' ජන්තු එසේ කී විට මට ඉමහත් සතුටක් දැණුනි.

සීගිරිය සීපල්ගෙ බලකොටුව. සොර දෙටුවෙක් වූ සීපල්ට රට ඇතුලෙත් සතුරො සිටිය. අපේ හෙළයින් දැහැමි අය. වෙසෙසින් ම රකු ගොතේ වුවන් බොහොම දැහැමියි. දැහැමි වගේම අයුත්ත මැඩලීමට පසුබට වුනේ නැහැ. රටට නිගා දුන් සොර කමත්, මැර කමත් රටුන් ඉවසුවෙ නැහැ. එනිසාම සීපල්ට බලකොටුවක ඇවැසියාව දැනුන.'' පොඩියක් ඉන්න. ඇහෙනවද ගෝරනාඩුවක්. (ගොර අනඩුවක්) මා දන්නව ඒ කව්ද කියා. ඌට හොඳ පාඩමක් උගන්වන්නම්'' ජන්තු මදක් නිහඬ වීය.

ගෙයින් පිට ගස්වැල් ඇඹරෙන හඬ සමඟ මහා සුළඟක් හමා යන හඬ මටද ඇසින. මොහොතකින් පසු ජන්තු නැවත කතාව ඇරඹුවේය.

''ඒ ආවෙ සීපල්ගෙ සගයෙක්. උන් කැමැති නැහැ, උන්ගෙ තුගුණ කියනවට. එය වැළකීමටයි ඒ ආවෙ. ඌ තුන්කුළු මලයෙනුත් එපිටට එලවලයි මා ආවෙ. (තුන්කුළු මලය යනු දැන් ත්‍රිකුණාමලය නමින් හැඳින්වෙන බව පසුව දැනගතිමි.) උන් නිසා තමා, මේ රටේ ඉන්නෙ මිනී කන යක්කුයැයි පිට රටුන් අතර පැතිර තිබුනෙ. උන්ට දැන් කළහැකි දෙයක් නැහැ. කළ හැක්කෙ පුහු ගෝරනාඩු කිරීම පමණයි.'' ජන්තු කියාගෙන ගියේ තරමක කොවින් මෙනි.

''කමක් නැහැ ජන්තු, දැන් අපි සීගිරිය ගැන කතා කරමු.'' මා නැවතත් ඔහු සීගිරියට යොමු කළේ හිරු උදා වීමට ළංවූ බැවිනුත්, හිරු උදාවත් සමඟ ජන්තු මගෙන් සමු ගනු ඇතැයි සිතීමෙනුත්ය.

''රාවණ රජතුමා සීගිරි බලකොටුව සුවිසල් මැඳුරක් බවට පත් කළා. සිපල්ගෙ මාලිගය ලොකු කර තැනෙව්ව. තමා තුන් ලොවටම අදිපතියැයි පෙන්වීමට සීගිරි මාලිගය තුන්මහල් කර තැනෙව්ව.

කලකට පෙර රාවණ කුමරු අතින් පැරදී භාරතයට පලාගිය කුවෙර භාරතයෙ ආලකමන්දව නමින් සුවිසල් මැඳුරක් තනාගෙන එහි විසුව. එකල දැන සිටි ලොවේ තිබු සුවිසල්ම මැඳුර තමා ආලකමන්දාව. එයට ආලකමන්දව නමින් නම්කර තිබුනෙ ලකෙන් ආවෙකුගෙ මනසින් බිහිවූවක් යන අරුතිනුයි. යුද බලෙන් රාවණ කුමරු පැරදීමට බැරි වුවත් ඉසුරු බලෙන් රාවණ කුමරු පැරදීමටයි, කුවෙරයන් ආලක මන්දාව තැනුවෙ.'' ජන්තු විස්තර කළා.

''නමුත් ජන්තු, අපේ ලියා ඇති ඉතිහාසය රාවණ රජතුමාත්, සීගිරියත් ගැන කිසිම සඳහනක් කරන්නේ නැහැ. අපේ ඉතිහාසයෙ සඳහන් වන්නෙ සීගිරිය ගොඩනැඟුවෙ කසුප් රජතුමාය කියායි. ඉතින් අපි කියන්නෙ කොහොමද සීගිරිය තැනුවෙ රාවණාය කියා,'' මා අතුරු පැණයක් නැගුයේ අප නොදත් දේ ජන්තුගෙන් දැනගැනීමටය.

''බදුරු කොහොමද කියන්නෙ සාදක නැහැ කියා. මෙන්න සාධක. බදුරු කියවල ඇතිනෙ සීගිරි කුරුටු ගී ගැන. කසුප් කුමරු සීගිරියට ඒමට පෙර ලියූ කුරුටු ගී වල තිබුනෙ රාවණ වරුනෙ. එයින් ඉතිරිවූ කුරුටු ගීයක් තාම තියෙනව. එයින් කියන්නෙ කසුප් කුමරු සීගිරියට එනකොට ගැහැණු ගල් ඇන්දෙ තෙමි තෙමි ඉන්නව දැකල ඇන්දෙව්ව කියල. ගල් ඇන්දෙ පණ ඇති ගැහැනු නැහැ. ගල් ඇන්දෙ හිටිය ගැහැණු සීගිරි සිතුවම්. කාලයාගේ ඇවෑමෙන් මැකී තිබූ සිතුවම් කසුප් රජතුමා නැවත ඇන්දෙව්ව. අපේ කාලෙ තරුණියන් උඩුකය වැසුවෙ විවාපත් වීමෙන් පසුවයි. වනිතාවන්ගෙ නිරුවත් උඩුකයට කසුප් රජතුමා ඇඳුම් ඇන්දෙව්ව. අතිත් දෙය නම් කසුප් රජතුමාගෙ කාලය වනවිට ඉදිකිරීම් බොහොමයක් සමඟ ගල් කැටයම්

සහිතවයි. සීගිරි මාලිගය තැනුවෙ, ගොඩනැගිලි තැනුවෙ කැටගල් බැම්මෙනුයි ගඩොලිනුයි. දැන් පිළිගන්නවද?'' ජන්තු එසේ කියත්ම, ජන්තු අදිසිව සිටියත් උජාරු බැල්මකින් මා දෙස බලන සැටි මගේ මනසෙහි ඇඳුනි.

''රාවණ රජතුමා සීගිරි මාලිගය අවට නොයෙක් උයන් තටාක පොකුණු දියවැල් ජල මල් ආදිය තැනෙව්ව. සීගිරිය අසලවූ සීගිරි වැවෙන් යතුරු බලෙන් සීගිරිය මුදුනට වතුර ගෙන ගියා. එසේ වතුර උඩට ගෙන ගියේ වායුවෙන් වැඩ කළ යතුරු බලෙන්. එම යතුරු දිවා රෑ දෙකේම නිරතුරුවම වැඩ කළා. එක් යතුරකින් සීගිරි වැවේ සිට සීගිරි පව්ව මැද තිබු පොකුණට වතුර එසෙවුව. තව යතුරකින් එම පොකුණෙ සිට සීගිරි පව්ව මුදුනට වතුර නැංගෙව්ව.

එසේ ගෙන ගිය වතුරත්, වැස්සෙන් ලැබු වතුරත් ඇවැසියාවන් සපුරා ගැනීමෙන් පසු නැවත පහලට ආවෙ වතුර මල් තුලින්. සීගිරි පාමුල එම වතුර මල් දිවා රෑ දිස්වුනා. එම වතුර ගෙනගිය ජල නල, තටාක, ජලමල් ආදියෙ නටබුන් අදත් දැකිය හැකියි.. කඳු මුදුනට නැඟීමට තැනූ පියගැට පෙළ පටන්ගත්තෙ සිංහ මුවක් තුලින්. එය සිපල් තැනවූවක්. රාවණ රජතුමා එය තුවත් දියුණු කළා. පිය ගැට පෙළට අම්තරව කන්දෙ පැත්තකින් කඳු මුදුනට නැඟීමට යතුරු බලෙන් වැඩ කළ උභතායක් තනා තිබුණ. යතුරු බලෙන් කළ හැමදෙයක්ම නිම කළේ විකුම්.

රාවණ රජතුමා හිස් දහයකින් උගතයුතු සතර උගෙන තිබු නිසා එම දැනුමට අදල සියළු දෙය සීගිරියෙ ඇති කළා. රාවණ රජතුමා වෙද සතරත් දැන සිටි බැවින් ඒ සඳහා ඇවැසි බෙහෙත් ගස් සීගිරිය අවට සෑම තැනම වවා තිබුන. සීගිරිය අවට එකම උයනක්. එකල දැන සිටි ලොවේ හැම රටකම තිබු ගස් වැල් සීගිරි උයනෙ වවා තිබුන. සීගිරිය අවට එක් පසෙක උණුසුම් කාලය ගත කිරීමට පොකුණු තටාක වලින් යැදි සිසිල් පරිසරයට කොටසක් වෙන් කර තිබුණා.

එපමණක් නොවෙයි. සීගිරිය පිහිටියෙ උණුසුම් පෙදෙසක බැවින් මාලිගය තුල උනුසුම් නැතිකිරීමට වායු සමීකරණය කර තිබුන. එසේ කළේ සීගිරි මාලිගය තුල දිය පොකුණු දියවැල් සෑදීමෙනුයි. අදත් ඒවායෙ නටබුන් දකිය හැකියි. සීගිරි වැවෙන් මාලිගයට නල මගින් ගෙන ගිය වතුර ඇවැසි දේ සඳහා යෙදීමෙන් පසු නල මගින් සීගිරි කුලෙන් පහලට ගෙනවුත් දිවා රෑ විහිදෙමින් සිටි වතුර මල් තැනුවා.

දිවා රෑ එක සේ ආලෝකමත් වීමට පහන් විලක්කු දහස් ගණන් ඇඳිරි වැටෙත්ම දැල්වුනා. සීගිරි මාලිගය මුදුනෙ දැල්වුන පහන් ගව් ගණනක් දුරට පෙණුන.

සීගිරි මාලිගය ඇතුළත සිය ගණන් විවේකාගාර තනා තිබුන. ඒවායෙ බිත්ති වීදුරු මෙන් ඔපකර තිබුන.'' ජන්තු කියාගෙන යද්දී මට රාමායනයද සිහිවින.

''ඔව් ජන්තු, මට මතකයි රාමායනයෙත් ලියා තිබෙනව රාවණා රජතුමාගෙ යහන් ගෘබෙ රාවණා රජතුමා සිටියම රජතුමාගෙ පිළි රූ හැම බිත්තියකම දිස්වූ බව.'' මා කීයේ ජන්තු තවත් දිරිමත් කිරීමට ය.

''ඔව් බදුරු දූනට ඉතිරිව ඇති සීගිරි කැටපත් පවුරෙන් ඇත්තෙ එම බදමය මයි. එම පවුර වටා බදමය මත සිතුවම් දහස් ගණනක් ඇඳ තිබුණ. ඒ අතර මහාකාල රකුවිමනෙ වසරක් පාසා නැටූ නැටියන් පන්සියයක සිතුවමුත් තිබුණ. ඒවායින් සමහරක් අදත් තිබෙනව.

ලක මැද පිහිටි මහාකාල රකුවිමනෙ සැම වසරකම බක්මග උළෙලක් පැවැත්තුවා. එම උළෙල පැවැත්වූයෙ හිරු දෙව් නොහොත් හිරු රකු වෙනුවෙන්. එම උළෙලෙදී පන්සියයක් නැටියන් නැටූ නැටුමෙන් පෙන්වූයෙ ලොව ඇතිවූ සැටියි. ලොව පළමුවෙන්ම දූම වලාවක්ව තිබී, රන් වී ගිනි ගුලියක් වී ඒ මත මහ වැසි වැටී සිසිල්වී ආලෝක වී මල්පල හටගත් සැටි පෙන්වීමට පස් මහ නැටුමක් තිබුන. එක් නැටුමකට සියයක් බැගින් එම නැටුමෙදී පන්සියයක්

නැටියන් නැටුව. ඒ නැටුම් නම් කර තිබුණෙ (1) දුම් නැටුම (2) ගිනි නැටුම (3) ජල නැටුම (4) පහන් නැටුම සහ (5) මල් නැටුම ලෙසිනුයි. ඒවායින් දැනට ඉතිරිව ඇත්තෙ මල් නැටුම පමණයි.

මෙ සියල්ලටම වඩා විසිතුරු මාලිගයක් සීගිරි පච්ච ඇතුලත තිබෙනව. එහි ඇතුලට කිසිවෙකුට යාමට නොහැකියි. අපි ඒවාට රැකවරණ යොදා තිබෙනව.

"සීගිරිය අවට පවුරු සතක් සහ දිය අගලකුත් රාවණා රජතුමා තැනෙව්ව. පවුරු සතෙහි එක් දිසාවකට එක දොරටුව බැගින් සතර දිසාවට දොරටු විසි අටක් තිබුණ. එම දොරටු නම්කර තිබුනෙ ගහසතරෙ නැකත් විසි අට වෙනුවෙනුයි. එකල සීගිරිය ගහසතර අනුව ඉර හඳ තරු පිළිබඳ මිණුම් කළ විදු මුළුවක් තිබුණ. තැනිතලාවක පිහිටි උසින් නැඟී සිටි කඳු මුදුනක් බැවින් සීගිරිය ඒ සඳහා හොඳම තැන වුනා.

රාවණ රජතුමා සීගිරියෙ නම මාලිගය සැකසීමට පෙර ලකට පමණක් නොව මුළු පෙරදිගටම කාලය මිණුම් කළ කාල මානය තිබුනෙ ලක් පුර නොහොත් ලක්ගලයි. ඒවායෙ නටබුන් අදත් තිබෙනව.

එපමණක් නොවෙයි ලක්ගලදී සිදුවූ රාවණ රාම හටනේදී බාවිතා කළ අවිත් තාම එහි තිබෙනව.

ලකත් ඇතුළුව රටවල් දහයක් සතුකර ගැනීමෙන් පසු රාවණ රජතුමා එම දස රජයේ ඔටුනුත් කොඩිත්, තමන් සතු කරගත්ත. සීගිරි මාලිගය මුදුනෙ ඉහලින්ම ඉර හඳ සහිත රාවණ කොඩියත් ඉන් පහළ අනිත් රටවල් නවයෙ කොඩිත් ලෙළ දුන්න. රටවල් දහයක් දිනීමෙන් පසු ඔටුණු දහයකට හිමිකම කී රාවණ රජතුමා දසහිස් නමවුනා." ජන්තු විස්තර කලේ නොනවත්වාමය.

මෙසියල්ල අසා සිටියදී මට නිදිමතක්ද නොදැණුණි. එහෙත් මා නොදැණුවත්ව ම නින්දකට වැටී ඇති බව මා දැන ගත්තේ දෑස් ඇර කොග්ගල දෙස බැලීමෙන් පසුවය, කොග්ගල මහතාද මෙට්ටය මත දිගාවී දෑත් ළය මත කබා

නිහඬව සිටියේය. මා විමතියට පත්වූයේ මෙතෙක් මා ජන්තු සමග කතා බහ කළේ කැපයෙකු රහිතව බැවිනි.

''මහය පුදුම වෙන්න එපා. ඔබත් ජන්තුත් මෙතෙක් වෙලා කතා කළේ සිතුවිලි රැලි මගින්. ඒ සඳහා කැපයෙකු අනවැසියි. අප මිනිස් දිවි ගෙවද්දී අප අතර ඔය විදිය පැතිර තිබුණ. ඔබත් ඒ යුගයෙ සිටි නිසා දූන් දූන් ඔබටත් ඒ හුරුව මතුවී එනව.'' ඒ කතාකළේ මකරය. කැපයෙකු නොමැතිව වුවද ඔහු කී දෙය පැහැදිලිව මට ඇසුනි.

''බොහොම හොඳා මකර. ඔබ ඇවිත් සිටි බව මා දූන සිටියෙ නැහැ. දූන් ඉතින් කැපයෙකුත් අනවැසිනම සිතුවිලි රැලි මගින් කතා කළ හැකි නිසා අප තිදෙනාටම අදහස් හුවමාරු කර ගත හැකියි.''

''ඔව් එහෙම හොඳා. ඔබ මෙතෙක් වෙලා මා සමග කතා කරමින් සිටියමුත් ඔබ සිටියෙ නිදාගෙනයි. එයින් ඔබට සිරුරට වෙහෙසකුත් නැහැ. සිතුවිලි රැලි මගින් කතා කරන කොට බොහෝ දේ ටික වෙලාවකදී කිව හැකියි. එ ය ට වෙනසක් ඇවැසි නැහැ. බඳුරු පෙර අත්බැව්වල එම හැකියාව ලබා තිබු නිසා එසේ කිරීම ඉතා පහසුයි. එහෙත් ඔබ හොඳින් අවදිව සිටින විට එසේ කිරීමට සෑහෙන පුහුණුවක් ඇවැසියි. එසේ සිතුවිලි මගින් අදහස් හුවමාරු කර ගත හැක්කෙ උඩු සිත නිදිගන්වා යටි සිත මතු කිරීමෙනුයි. ''

''ජන්තු ඇත අතීතයේ සීගිරිය ගැන කියනව විතා සීගිරිය ගැන මෑත අතීතය පිලිබඳ කරුණුත් කිව නොහැකිද?''

''ඇයි බැරි අප මිනිස් දිවි ගෙවූ කාලයෙත්, ඉන් පසු රකු ලොවට ඇතුළුව එහි දිවි ගෙවූ කාලයේත් සිදුවූ ඕනෑම දෙයක් ගැන අහන්න මා කියන්නම.''

''ජන්තු සීගිරිය ගැන කියනකොට මට කසුප් රජතුමාත්, එතුමාගෙ පියා ඝාත්වූ දසෙන් රජතුමාත් සිහිවුනා. සීගිරිය වැනි මහා කලාගාරයක්, මාලිගයක්, බලකොටුවක් ඉදිකර නිමවූ මෙහළ ඉතිහාසෙ මහා කලාකරුවෙකුවූ කසුප් රජතුමා පියා මැරුවෙකුය කියා අපේ ඉතිහාස පොත්වල සඳහන්

වෙනව. ඒ ගැන සිතනකොට මට මහා කුතුහලයක්, සිත් තැවුලක්, තොවක් ඇතිවෙනව. ජන්තුට හැකි නොවැ එහි නියම තතු මට කියා දීමට.''

''බොහොම හොඳ අදහසක් බඳුරු, මෙතෙක් යටපත්වී තිබූ ඇත්ත අපට හෙළි කළ හැකියි. කසුප් රජතුමා තම පියා මැරුවෙත් නැහැ. බිත්තියට තබා මැට් ගැහුවෙත් නැහැ එයක් දිග කතාවක්. පසුව එය කියන්නම්. එහි ඇත්ත සැඟවුනේ ලකට පැමිණීමෙන් පසු විජය නම්වූ ජෙට්ඨ සිංහ නොහොත් චණ්ඩසිංහ ලක් අදිපතිවීමෙනුත්......

එපමණක් නොවෙයි, සිංහල දූයත් වසර දෙ ද හ ස් පන්සියය වන විට අවසන් වනව. නැතහොත් තදබල වෙනසක් ඇතිවෙනව. විජයගෙ කාලයෙන් පසු එය සිදුවූනෙ ඉන්දියාවට දන නැවූවන් නිසා. නොදුරු අනාගතයෙදී බට හිරට දණනමන්නන් නිසාත්, සිංහළයාගෙ බෙදීම නිසාත් ව ස ර දෙදහස් පන්සියයෙදී වැනාසෙනව.

හෙළ දූයට මේ හෙනේ වසර දෙදහස් පන්සියයකට වරක් සිදුවෙනව. වසර දස දහසකට පෙර තාරක යුගයෙ සුර අසුර යුද්දයෙදී හෙළ දූය වැනසුනා. වසර හත් දහස් පන්සියයකට පෙර මහබලි යුගයෙදීත්, සුර අසුර යුද්දෙනුත් හෙළ දූය වැනසුනා. වසර පන්දහසකට පෙර සක්විති රාවණ රජතුමා රාමගෙන් පැරදීමෙන් හෙළ දූය වැනසුනා. වසර දෙදහස් පන්සියයකට පෙර විජයගෙ පැමිණීමෙන් හෙළදූය වැනසුනා. දැන් පැමිණ ඇත්තෙ පස් වන වතාවයි. කලින් තුන් වතාවෙම වැනසුනෙ ඉන්දියයන් නිසයි. මේ වතාවෙ බටහිරට දණ නමන්නානුත් ඊට එක්වෙනව.'' ඒ ටික ජන්තු කීවේ වේගවත්වයි.

''බඳුරු දන්නවද හෙළයන්, සිව් හෙළයන්, සිහෙළයන්. සිංහ හෙළයන්, සිංහලයන් හැඳින හැටි? වසර දහස් ගණනක සිටම පිටරටුන් මෙහි පැමිණුනා. ඈත මහ මුහුදෙ කුණාටු වලට අසුවී සුන් වූ නැව් වලින් පණ බේරාගත්තවුන් පහ-

සූවෙන් පාවෙන්නෙ අපේ රටටයි. එසේ සිදුවෙන්නෙ මේ රටේ පිහිටීම අනුවයි. මුහුදු ගමන් වලදී අසල් රටවලට වඩා පහසුවෙන් මේ රටට ඒමට පහසුව සොබා දහමින්ම සැලසී තිබෙනව. එපමණක් නොවෙයි, නොඑක් රටවල වෙළඳුන් නිතර මෙහි පැමිණියා. ඔවුන් හැම දෙනෙකුම ආපසු ගියේ නැහැ. බොහොමයක් මෙහිම නැවතුනා. මෙහි නැවතුනවුන් අපේ බස, අපේ ඇදහීම්, අපේ සිරිත් විරිත් පිලිගෙන හෙළයට හුරු නම් රැගෙන අපේ රැහැටම එක්වුනා රටේ සාමය රැකීමට සාමයෙන් සිටීමට මුල්ම ඇවැසියාව බස වුනා. දූයේ බැඳීම පැවතියේ බස නිසයි. අපේ දූයේ වුවන් මුසුවූ නරවටම අප දූයේ වූවන්ගෙ දස්කම් වැඩිවුනා මුසුවූ හැම දෙයක් ම දියුණුයි, තියුණුයි. එය සොබාදම් නියදමක්. අතීතයේ මෙරටට පැමිණි කිසිවෙකු අපේ බස, අපේ ඇදහීම්, අපේ සිරිත් විරිත් නොපිළිගතහොත් ඔවුන්ට රටේ අයිතිය ලැබුනෙ නැහැ. ඇත පිටිසර හෙළයන් අතර ඒ සිරිත පවතිනව. එය හඳුන්වන්නෙ රැහැට වැද්ද ගැනීම යනුවෙනුයි.

එහෙත් හෙළදිවේත්, හෙළයින්ගෙත් අවාසනාවට හෙළ දිවේ පාලනය පර බසට, පරසිරිතට, පර විරිතට ගැතිවූවන් අතට පත්වීමෙන් හෙළයාගෙ පිරිහීම ඇතිවෙනව. තවත් ටික කලකදී බලලොබින් මත්වූවන් එකිනෙකා කුලල් කා සුළු ජනතාවගෙ සහාය ලැබීමට හෙළයාගෙ අයිතීන් පාවා දෙනව, සිංහළයා පිරිහෙනව. , . .

ජන්තු නොනවත්වා ම වේගයෙන් කියාගෙන ගියේ එද සහ ලමිද ඇති වෙනස දූක වල්මත්ව, දැ අබිමනින් කුල්මත්ව හඳවතින්ම නැඟී ආ වේගයකිනැයි මට සිතුනි. කෙසේ හෝ වේවා මට ඇවැසිව තිබියේ සිගිරිය ගැන මෙතෙක් අනාවරණය නොවී ඇති දේ දූනාගැනීමට බැවින් මම නැවතත් ජන්තු සිගිරිය වෙත යොමු කළෙමි.

''ජන්තුට හෙළයාගෙ මළගම පෙනී සීගිරියත් අමතක වූවා වගෙයි.'' මම කීවෙමි.

''නැහැ බඳුරු නැහැ. මට අපේ අතීතයෙ නටබුන් කවදාවත් අමතක වන්නෙ නැහැ. සිගිරිය වැනි අමරණීය සිහිවටනයක් තැබූ දූයක් වැනසෙන හැටි දැක දැක කෙසේ නම් ඉවසා සිටිය හැකිද? සීගිරියට ඇතැමෙක් සිහිගිරිය යැයි කීවෙත් එය අමතක නොවන සිහිවටනයක් නිසාමයි, ඒ සොඳුරු සීගිරියත් අප සමඟම පරලොවට ගෙන ආ හැකි නම් එය මහා සේවයක්යැයි ඇතැම් විට මට සිතෙනව.'' ජන්තු කීවේ දොම්නසින් මෙනි.

අප හෙළදූයේ කිසිවෙකු පියා මැරූ සඳහනක් ගැන මා නම් දන්නෙ නැහැ. සිංහළයාගෙ ආදිමයා යැයි ඔබ කියන විජය ගේ පියා නම් පියා මැරූ බව අප අසා තිබෙනව. කමක් නැහැ බඳුරු, ඔබට දැන ගැනීමට ඇවැසි සීගිරිය ගැන නොවැ. එහෙනම් මා තවත් කියන්නම්.

සීගිරිය රාවණ රජතුමාගෙ මාලිගය පමණක් නොවෙයි එතැන කඳු මුදුනෙ අහස් කුස ගහතරු පිරි සීමේ බැලුම්-පලක්වත් තිබුන. රාවණ රජ තුමා මහා කාල රුසි තුමාගෙන් උගත් සතර ඇතුරින් එකක් තමා අහස් කුස ගහයින්ගෙ ගතිපැවතුම් සොයා ඒ අනුව අප රටටත්, ජනතාවටත්. ඒ ඒ තැනැත්තටත් සිදුවන සැපත් විපත් ගැන කලින් දැන ගැනීම. සීගිරිය අවට සතර දිග ගිරිහෙල් නොමැති බැවින් අහස පිරිසීමට එතැන හොඳම තැන වුනා. සමහර දිනවල මහාකාල රුසිතුමාත් දින ගණන් ගහසතරෙ යෙදෙමින් සීගිරියෙ ගතකළා..'' ජන්තු විස්තර කරගෙන ගියා.

''එපමණක් නොවෙයි මහාකාල රුසිතුමා රාවණා රජ-තුමාත් සමග සීගිරියෙ රකුන් පිදීමත් කළා. රකුන් පිදීම පමණක් නොවෙයි හිරු නැමදීමත් කළා. අපේ ආදිම මුතුන් මිත්තා හිරු ලෙස අප සැලකූ බැවින් අපේ රුහේ වුවන් නිති පතා හිරු නැමදීම කළා. රාවණා රජතුමා දිනපතාම හිරු නැගීමට පෙර නහා පිරිසිදුව සීගිරි කඳු මුදුනෙ පිහිටි

සීගිරි මාලිගයෙ තුන්වැනි මහලෙ සිට හිරු නැගී එත්ම හිරු නැමදීම කළා. ඒ සඳහා එතුමා බාවිතා කළේ මහා බලගතු මතුරක්. මතුර පමණක් නොවෙයි හිරු යතුරක් (යන්ත්‍රයක්) එතුමා සතුව තිබුණ. එම යතුර රන් පතක ලියා එතුමාගෙ ඔටුන්නෙ තැන්පත් කර තිබුණ. එතුමාගෙ බලවිකුම් පැමට එම යතුරත්, මතුරත් උපකාරී වුනා. එම යතුරත්, මතුරත් මා බඳුරුට දෙන්නම්, හැබැයි එය කිසිම නුසුදුස්සෙකුට දෙන්න එපා. එයින් මහාද දේ වගේම නපුරු දේත් කළහැකියි.'' ජන්තු එසේ කීවේ මා සමග ඇතිව තිබූ ලෙන්ගතු කම නිසාමයැයි මට හැඟුනි.

''නැහැ ජන්තු, එය නරකදෙයටත් යෙදිය හැකිනම් එය මට එපා. බැරිවෙලාවත් එය මගෙන් පිටවුනොත් එයින් අවැඩ සිදුවිය හැකියි. මගේ දූය සතු මහඟු මිණි රුවන් කෙළෙසීමට මා කැමැති නැහැ.'' මා එසේ කීවා නොව කියැවුනේ මගේ දූයට මා එතරම ම ගරු බුහුමනින්ම යැයි මට පසුව සිතුනි.

(මෙම යතුරත්, මතුරත් ගැන සිදුවූ එක්තරා සිදුවීමක් මෙහි ලා සඳහන් කළ යුතුම යැයි මට සිතේ. එනම් 1979 දී පමණ මා මහනුවර මහ රෝහලේ සේවය කළ කාලයේ එක් දිනෙක මා හමුවීමට මගේ කායඨාලයට හිමි නමක් වැඩි සේක. ඉන් පෙර මා උන්වහන්සේ හමුවී නොතිබිණ. තමන්වහන්සේ හඳුන්වා දීමෙන් පසු උන්වහන්සේ වදාළේ මා සමහ ඉතා වැදගත් කරුණක් රහසිගතව කීමට ඇති බවත් උන්වහන්සේ කීමට යන කරුණේ කිසියම් ඇත්තක් ඇතිදැයි දැනගැනීමට රිසි බවත්ය.

උන්වහන්සේ මගේ කාර්යාලයට යාබද පුද්ගලික කාමරයට කැඳවාගෙන යාමෙන් පසු උන්වහන්සේ වදාළේ පෙර දින රැයෙහි අළුයම උන්වහන්සේ අපූරු සිහිනයක් දුටු බවය. සිහිනයෙන් උන්වහන්සේට කිසියම නාඳුණන කෙනෙක් මා පෙන්වා බලවත් යතුරක් සහ මතුරක් මා සතුව ඇති බවත්, එම යතුර මගෙන් ලබාගෙන එහි ඇති බලතල

සහ ඇත්ත තාවය බලන ලෙසත්ය. යතුර සහ මතුර පිලිබඳ සියලු විස්තරද උන්වහන්සේට එම තැනැත්ත කී බවත් වදළ සේක. උන්වහන්සේට දී තිබු විස්තර ඇත්ත බව මට වැටහී ගියෙන් එම පණිවුඩය දුන් තැනැත්තා කෙබඳු තැනැත්තෙක්දැයි මම ඇසුවෙමි. උන්වහන්සේ වදළේ කෙනෙකු නොදුටු බවත් කිසියම් ගැඹුරු හඬකින් කතා කළ බව පමණක් උන්වහන්සේට එවෙලේ වැටහී ගිය බවත්ය.

මම උන්වහන්සේට යතුර සහ මතුර ලියා දුනිමි. එම යතුර මතුරන සැටිද ඒ සඳහා ලබාගන්නා තෙල් සිදින සැටිද යතුර අදින සැටිද ජන්තු මට කියාදී තිබු අයුරින්ම මම උන්වහන්සේට ලියා දුනිමි. උන්වහන්සේ ඒ අනුව එම යතුරත් මතුරෙන් මැතිරූ තෙලුත් පසුව මා වෙත ගෙනත් දුන් සේක. ඒ දිනවලම මා කිහිප අයුරින් අත්හදා බැලීම් කර එහි කිසියම් බලයක් ඇති බව වටහාගතිමි. එම යතුරත් මැතිරූ තෙලුත් දැනුදු මා සතුව ඇතත්, මෑතකදී ඒ ගැන පිරිසෙයුම් කිරීමට අවසරයක් නොවීන. ඇතැම් යතුරු සහ මැතිරූ තෙල් වල බලය පවතිනුයේ සීමා සහිත කාලයකට පමණක් බව මා අසා ඇත. එබැවින් එම තෙල් වලත් යතුරෙත් බලය එදා මෙන්ම අදත් ඇතිදැයි නොදනිමි. එය දැනුදු මා පරිහරණය නොකළේද එයින් දැනුදු යහපතක්ම සිදුවන බව මගේ වැටහීමයි.)

''එහෙම කියන්න එපා බඳුරු, එයින් ඔබට අවැඩක් සිදුවන්නෙ නැහැ. මා එය කියන්නම්. හොඳින් පාඩම් කර ගන්න. එක් වරක් ඇසීමෙන් පසු එය ඔබට අමතක නොවන බව මට සහතිකයි: ඔබ එයින් තෙල් මතුරා හෝ යතුර මතුරා බාවිතා නොකළත් එය සිතේ දැරීමෙන් පමණක් වුවත් එහි බලය ඔබට ලැබෙනු ඇත.'' ජන්තු එසේ කීමෙන් පසු සියලු විස්තර මට කීය ඉතාමත්ම ලෙහෙසි ගතු කම්නි. කෙසේ හෝ වේවා අදත් එය මට පාඩම් ඇත. දැනුදු මා එය දිනපතා සිහි කරමි.

මෙතරම් බලවත් යතුරු මතුරු තිබියදීත් රාවණා රජතුමාත් නැසී වැනසී ඒ අබිමන් අතීතයත් මැකී ගිය සැටි මෙනෙහි කරමින් මා මොහොතක් නිහඬ වීමි.

''ඇයි බුදුරු නිහඬ. අසන්න තවත් ඔබට ඇවැසි විස්තර ඇති නොවැ.'' මගේ නිහඬතාවය බිඳිමින් ජන්තු මා දිරිමත් කළේය.

''නැහැ ජන්තු මා කල්පනා කළේ මෙතරම් මහඟු බලවත් අතීතයත් හෙළ දූයත් කිසිම සටහනකින් තොරව මැකී ගිය සැටියි.'' මා කීයේ මහත් දොම්නසිනි.

''නැහැ බුදුරු මැකී ගියා නොවෙයි. මැකුව. කිසිවෙකු හෝ කිසියම් පිරිසක් බලයට පැමිණි විට කලින් බලයේ සිටියවුන්ගේ කිරිය නිගාවට පත් කිරීමත් ඉසුරුබව මකාලීමත් ලෝ නියදම අනුවම සිදුවන්නක්. එයත් තම බලය තහවුරු කිරීමේ එක් මගක්. එය අතීතයෙත් සිදුවුනා. දැනුත් සිදු වෙනව. අනාගතයේදීත් සිදුවෙනව. වෙනස්වීමේ ලෝ නියදම අනුව එය සිදුවිය යුතුය.

යක්, රක්, නා, දෙව් ලෙසින් මළවුන් අදහමින් ඔවුන්ගේ උපකාර රැකවරණ ලත් හෙළයා එබඳු ඇදහීම් බහුබූත ලෙස දූන දූන් අදහනව, එයින් අපේ දූය සතු සිරිත් විරිත් වෙනස් වීමෙන් දූයේ ලකුණු මැකියනව. අන්තිමට ඉතිරිවනුයේ හෙළයින් සිව් හෙළයින්ව, සිව් හෙළයින් සීහෙළයින්ව සීහෙළයින් සිංහලයින්ව සැදි ආ දූයෙක නම පවා ලකුන් ලෙස වෙනස් වෙනව.

ලෝ පතළ කිතුගොඩින් සකල ලොව මවින කළ දස ඔටුනු දුරු සක්විති රාවණ රජතුමාත් රකුන් නොහොත් මළවුන් පිදීම කළා. එතුමාත් මහාකාල රුසි තුමාත් රකුන් පිදීම සඳහා සිගිරිය අසල වෙනමම ගිරිකුලක් සකසා තිබුන. ඒ තමා රකුන් පිදු ගල නොහොත් පිදු රකුන් ගල.'' ජන්තු කියාගෙන ගියා.

''හරි, හරි, ජන්තු එහෙනම් එතැන තමා දූන් පිදුරංගල නමින් හැඳින්වෙන්නෙ? මා හරිද?'' මා ඇසුයේ පිදුරකුන් ගල යන්න පිදුරංගල වූයේ යැයි සිතීමෙනි.

"ඔව් බඳුරු ඔබ හරි. පසුකලෙක එය පිදුරංගල වුනා. කසුප් රජ තුමාගෙ කාලයට පෙර පටන් - එනම් බුදු දහම ලක පැමිණි ද පටන් ඇදහීමෙ වතාවත් සඳහා ආදිමයන් දහම ඇදහූ තැන බුදු පුතුන්ගෙ නිවහනක් වුනා. දැමුනු සිත් ඇතියවුන්ට හැර ගිහි දිවි ගෙවූවන්ට එම පෙදෙසට යා නොහැකි වුනා. රාවණ රජතුමාගෙන් පසු සීගිරියට හෝ පිදුරන් ගල පෙදෙයට හෝ ගොස් තිර නැවතීමට නොහැකිවුණා කසුප් කුමරුටත් එහි යාමට හැකිවූයේ යක් රැහෙන් පැවත ආ උරුමය අනුවයි. කසුප් කුමරුගෙ මව් තුමිය යක් රැහේ කුමරියක්. රාවණ රජතුමා සිව් හෙළය එක් කිරීමට සිව් රැහෙන් කුමරියන් සිව් දෙනෙකු විවා කරගත්ත. ඒ අනුව යක් රැහේ වූවන්ටත් රාවණ පරපුරට හිමිකම් කීමට හැකිවුනා.

රාවණ රජතුමාගෙන්, මහාකාල රුසිතුමාගෙන් යතුරු බලෙනුත්, මතුරු බලෙනුත් රැකුම් ලත් සීගිරියට හින්දියා-වෙන් නොහොත් බාරතයෙන් ආවුන්ට අයිතියත් නැතිවුනා හින්දි බසත් හින්දු දහමත් පැතිරීමෙන් පසු බාරතය හින්දියාව නොහොත් ඉන්දියාව වුනා. හින්දියාවෙන් ආ විජයගෙන් පැවතෙන්නට සීගිරියෙ හිමිකම් කීමට නොහැකිවුනා, සීගිරියෙ අයිතිය කසුප් කුමරුටවත් හින්දියයන්ටවත් නො වෙ යි සිහෙළයටයි. බලන්න එහි ඇති ඉදිකිරීම් දෙස. ගල් නෙලීම් එහි නැහැ. එහි ඇත්තෙ වසර පන්දහසක් පැරණි කැට උළු නොහොත් කැටොලු නොහොත් ගඩොලු වලින් සැදූ ඉදිකිරීම් හින්දිය බලපෑම් ලක පැතිරීමෙන් පසු ඇතිවූ කැටොලු ඉදි-කිරීම් ඇති ගල් අසුනක් පමණයි. එයත් කසුප් කුමරුගෙ ඉදිකිරීමක්.

සීගිරිය මත තිබුන තුන් මහල් පහයෙ නටඹුන් ඉතිරිව තිබී නම් රාවණ රජතුමාත් මහාකාල රුසිතුමාත් පිරිසැයුම් කළ ගහතරු විමසුම් කුටී නෙවන මහලෙ දැක ගත හැකියි,

ඒ දෙදෙනාම ගහතරු සතරෙ කෙළ පැමිණියන්. එකල ගහතරු සතර ඉහලින් දියුණුවක් ලබා තිබුණ. එකල තිබු සතර දැන් තරමක් වෙනස් වී ඇති සැටියක් පෙණෙනව,

එද නැකත් විසි අටක් තිබුනත් අද ඇත්තෙ විසිහතයි. එකල දිනකට හර විසි අටක් ලෙස ගැණුන. දිවා විසි අටයි. රැයෙහි විසි අටයි. දින විසි අටක් එක් මසක් හර යනු දිවා කාලයේ හෝ රෑ කාලයෙන් විසි අටෙන් කොටසක්. තවත් විස්තර දිය හැකියි. එහෙත් පරිසරය වෙනස් වීගෙන එනව. හිරු උදාවී හමාරයි'' ජන්තු එසේ කියත්ම වසා තිබූ දොරට කවුදෝ තට්ටු කරන හඩින් මම අවදිවිමි.

''මහත්තය, මහත්තය... තාම නිදිද? ඒ සුදනා ගුරුන්නාන්සේය. මට තනියට මා සමග කාමරයේ වූ බණ්ඩා තාමත් මර නින්දේය.

දොර විවර කළ මට දැක ගත හැකිවූයේ කොග්ගල මහතා බැලීමට පැමිණ සිටි ගම්මුන් රැසක්ය. උදෑසනින්ම එකිනෙකා කොග්ගල මහතාගේ නිවසට ඇදී ආ නමුත් වසා තිබූ කාමරය විවර කිරිමට තරම කිසිවෙකු දිරිමත් නොවීය.

## රාමාසන රහස් හෙළිවේ.

හිරු උදුවත්ම මට පළමුවෙන්ම කතා කළ තැනැත්තා යතුරු මතුරු සතර ගැන කෙළ පැමිණි තැනැත්තෙකැයි ගම්මුන් පිළිගත් සුදනා ගුරුන්නාන්සේ බැවින් මළයකුන් සමග කරන ඇසුරකදී එයද යස පෙරනිමිත්තකැයි මම සිතුවෙමි.

''මහත්තයටත් මේ දවස් ටිකේ විවේකයක් නැහැ නොවෙද? හැබැටම මහත්තය අපට වසං කළාට මහත්තයත් හොඳ මන්තර දන්නව ඇති.'' ගුරුන්නාන්සෙ කීවේ දිග කතාවක මුලපිරිමකැයි මට සිතුනි. එහෙත් ඔහු සමඟ මන්තර ගැන කතා කිරීමට වඩා වැදගත්දේ මළයකුන් සමඟ කතාබස් කිරිමට තිබූ බැවින් මට ඇවැසි වූයේ ගුරුන්නාන්සේ මඟ හැරීමය.

''අනේ මොන මන්තරද ගුරුන්නාන්සේ. මා දන්න මන්තරයක් නැහැ. මට ඇත්තෙ ආත්ම විස්වාසය පමණයි. මා දැනුවත්ව කිසි වරදක් කර නැහැ. සමහරවිට ඒ සත්ත

කිරියාව නිසා විය හැකියි, අමනුස්සයින් මට බය.'' මා කීයේ කතා බහ කොටින් හමාර කිරීමටය.

''බොහොම හරි මහත්තය, චෛතසික බලය ඔය හැම දේටම වඩා බලවත්. ඒ වුනත් අපි නම් ඉතින් මේ කෙස් පැහෙන තුරු මළයකුත් දමනය කළේ මන්තර බලෙන් තමා.'' ගුරුන්නාන්සේ එසේ කීවේ ඇනුම් පදයක් වත් දෝ යන්න මට සැකයක් විය. ඔහුට පිළිතුරු ලෙසට'' ඒ වුනත් ගුරුන්නාන්සෙ, ගුරුන්නාන්සෙලගෙ මන්තර බලෙන් නිළමෙ දමනය කරන්න බැරිවුනානෙ'' යැයි කීමට සිතුනද මා එසේ නොකීවේ කෙනෙකුගේ සිත් රිදවීමෙන් තමාගේ සිතද රිදීමකට ලක් විය හැකිය යන නියදම අනුවය.

කෙසේ හෝ වේවා ඒ මොහොතේ මගේ ගැලවුම් කරු නිළමේ විය.

''මේ ගුරුන්නාන්සෙ, කෝ මන්තර පොල්ල?'' නිලමේ ඇසුයේ කලින් දිනක සිදුවීමක් ගුරුන්නාන්සේට සිහිපත් කරවීමකැයි මට සිතුනි.

''එහෙනම් නිළමෙ අපි ගිහින් එන්නම්. මහත්තය ආයිබෝං'' ගුරුන්නාන්සෙ මාරුවිය.

''නාවට කමක් නැහැ.'' නිළමෙ කීයේ ගුරුන්නාන්සෙ කාමරයෙන් පිටවී යනවාත් සමගම බැවින් ඔහුට එය නෑසුනා විය හැකිය.

උදෑසන තේ පානය කරන අතර මා කොග්ගල මහත්මියට කීවේ ''උදේ පාන්දරම අර ගුරුන්නාන්සෙ ඇවිත් නිලමෙ ඇවිස්සුව. අත්‍යවශ්‍යම දෙයකට හැර කාටවත් කාමරයට එන්න දෙන්න එපා.'' මා එසේ කීයේ අතීතයෙන් ආ අමුත්තන් රැසක්ම හමුවීමට මා බලාපොරොත්තුව සිටි බැවිනි.

''කොහොමද මහත්තය මගෙ උපාය? ඔය මිනිහ මහත්තය එක්ක මෙතන කතාවට වැටුන නම් අපේ අමුත්තො එක්ක කතා කරන්න ලැබෙන්නෙ නැහැ නේ. මහත්තයට

විතරක් නොවෙයි දූන් දූන් මටත් ආස හිතෙනව අපේ ඉතිහාසෙ අහන්න.'' නිළමේ එසේ කීවිට මා සිතුයේ දූන් ජීවත්වන අපේ රටේ සමහරුන්ට අපේ ඉතිහාසේ ඕනැ නැති වුනාට අපේ ඉතිහාසෙ අහන්න මළයක්කුත් කැමැති බව ය.

''ඔව් ඉතින් ඉතිහාසෙ ඕනැ මළයක්කුන්ට ම තමා'' යි නවීන පත්නයේ සිරි ලංකෙකු කීවොත් එයද පුදුමයට කරුණක් නොවනු ඇත.

''මහය, මා ඊයෙ රෑත් කිහිප වරක්ම ආව. මහය ජන්තු සමග බර කතාවක්. කරදර නොකරම මා ගියා. වසර දහස් ගණනකට පසුව අපේ ඇත්තෙක් හමුවූනාම කොතරම් කතා කළත් මදි. ඒ නිසාම යි මා කිහිප වරක් ම පැමිණියේ.'' ඒ කතා කළේ ජන්තු නොව මකර ය. මා ඔහු හඳුනාගත්තෙ ඔහුගේ කටහඬින් ය.

''මා හිතනව ඔය කතාකරන්නෙ මකර. ඔව් ජන්තු විස්තර රැසක් මට දුන්න. එම කරුණු මෙතෙක් කිසිවෙකු නෑසූ ඒවා විය හැකියි. වෙසෙසින්ම සිගිරිය ගැන රාම රාවණ ගැන කියැවුන දේ ඉතා වැදගත්. මෙතෙක් අප අසා ඇති රාම රාවණ කතාව ඔය තොරතුරු වලින් බොහෝ දුරට වෙනස්.'' මා කෙළින්ම රාම රාවණ ගැන නො අසා මකරට අදහසක් පමණක් දුනිමි.

''පොතේ තියෙන්නෙ නම් රාවණ රජතුමා සීතා දේවි කැන්දන් ආව නොවෙයි, බලෙන්පැහැරගෙන ආවය කියා යි. රාවණා කියන්නෙ රාක්ෂයින්ගෙ රජෙකු හැටියටයි සඳහන් වන්නෙ. දූන් බලනකොට ඒ කතාව එහෙමපිටින් කනපිට හරවලනෙ ලියා තියෙන්නෙ.'' එසේ කීවේ නිළමෙ. මිනිස් දිවි ගෙවද්දි නිළමේ රාමායනය කියවා ඇති බව නිසැකය.

දූන් මකරත්, නිළමෙත් දෙදෙනාම කතාකරන්නෙ කොග්ගල මහතාගේ කටින්. දෙදෙනා වෙන් වෙන්ව හඳුනා ගත හැකිවූයේ කට හඬින් පමණි. නිළමෙගෙ කතාවට පිළිතුරු දුන්නෙ මකර.

"ඔව්. ඔව්. ඒව එහෙම තමා. අපේ කාලෙ අපි හින්දිය බමුණන්ටත් ඒඅයගෙ ගිනිදෙවියන් පිදීමටත් එතරම්ව බොහොම තදින් කටයුතු කළා. හින්දිය කියෙන් බාරතයටයි. ඒ අයගෙ බස හින්දි, ඇදහීම හින්දු. ඒ නිසා ඔවුන්ගෙ රටත් හින්දියාව වුනා. හින්දිය බමුණො ගිනිදෙවියා පිදීමට ගෙනවුත් තිබූ සතුන්ගෙ බැමි කපා එලවා දැම්ම. රාවණ රජතුමාගෙ හින්දියාවෙ තිබූ රජදහන්වල ගිනිදෙවියා පිදීම තහනම් කරල තිබුණ. ඒ නිසා හින්දිය බමුණන් අප කෙරෙහි බැඳුනු වෛරකින් පසුවුනා. සීතා දේවිත්, රාම කුමරුත්, ලක්ෂමණ කුමරුත් තපස් රැක්කෙ රාවණ රජතුමාගෙ රජදහනක. රාවණ රජතුමා එතුමාගෙ යටත් විජිත බැලීමට ගිය වතාවලදී ඒ තිදෙනාත් රජ පවුල්වල අය නිසා ඒ අය හමුවෙලා දුක සැපත් බැලුව. සක්විති රජෙකු වූ රාවණ රජතුමා දෙස සීතා දේවිය බැලුවෙ ඉමහත් ගරු බුහුමනින්. රාවණ රජතුමාගෙ බල විකුම ඈ අගය කළා. රාවණ රජතුමා එහි ගිය දිනවලදී සීතාදේවිය එතුමා පමහ පිළිසඳරෙන් යෙදුන.

එපමණක් නොවෙයි රාවණ රජතුමාගෙ රජදහන බාරව සිටි රාවණ රජතුමාගෙ නැඟණිය වන සුපනියා කුමරිය ඒ තිදෙනා සමග ඉතාමත්ම කුළුපගව සිටිය. ඈ නිතර ඔවුන්ගෙ අතුපැලට ගොස් සතුටු සාමීචියෙන් ගතකළා. ඒ අතර සුපනියා සහ ලක්ෂමණ කුමරු ඔවුනොවුන් කෙරෙහි ඇල්මක් ඇතිකර ගෙන ඇතැයි රාම කුමරු සැක කළා. සීතා දේවියත් නිතර නිතර රාවණා රජතුමා ගැන කතා කිරීම නිසා රාම කුමරු සීතා දේවියත් සැක කළා. අන්තිමෙ රාම කුමරු සුපනිකාට එහි ඒම තහනම් කළා. මේ ගැන ලක්ෂමණ කුමරුත් සීතා දේවියත් රාම කුමරුට දොස්පැවරුව. කැලේ තපස් රැක්ක තම සැමියාත්, සැමියාගේ සොහොයුරාත් හැර සීතා දේවියට ඇසුරු කිරීමට සිටි එකම යෙහෙළිය සුපනියා කුමරිය බැවින් රාම කුමරු අසපුවෙන් පිටව ගිය වතාවල සුපනියා සීතාදේවිය හමුවීමට ආව, ගියා. රාම කුමරු සිටි බව නොදැන එක් දිනෙක සුපනියා කුමරිය එහි ආවම, රාම කුමරු සුපනියා තලා පෙලා නැහැයත් කපා දැම්ම. සුපනියා කුමරිය නැහැයෙ කෑල්ලත් රැගෙන ලක්පුරට විත් රාවණ රජතුමාට ඒ ගැන පැමිණිලි කළා.

වෙදහෙද කමින් කෙළ පැමිණි මහාකාල රූ සි තූ මා කුමරියගෙ නැහැය සුවකළා. ඒ අතර රාවණ රජතුමා ද දසරජදහමින් රජකළ රජෙකු බැවින් උරණ නොවී මේ ගැන හිමසා බැලීමට හීන්දියාවෙ රාම කුමරුගේ අසපුවට ගියා. දඩුමොණරය නැවැත්වීමට සුදුසු තැනක නවතා රාවණ රජතුමා අසපුව දෙසට ගියා.

ඈත එන රාවණ රජතුමා දුටු සීතාදේවිය සිතුවෙ රාවණ රජතුමා තම නැගණියට අකටර කිරීම නිමිති කර ලක්ෂමණ කුමරුගෙනුත්, රාම කුමරුගෙනුත් පලි ගැනීමට පැමිණි ඇත කියායි. ඈ ඒ දෙදෙනාම මායාවකින් පිටත් කර හැරිය.'' ජන්තු රාමායනය සැකෙවින් කියාගෙන ගියා.

''ටිකක් ඉන්න ජන්තු, ඔතැනදි මටත් කිවයුතු යමක් තිබෙනව. රාම කුමාරය සුපනියා කුමරියට කරදර කිරීමෙන් පසු සීතා දේවිය රකුන්ගෙන් රැකීමට ඇය සමහම සිටි ය බව රාමායනයෙන් කියැවෙනව. ඒ සමගම රාමායනයෙ සඳහන් වෙනව රන් මුවෙකු එතැනින් පැන ගිය බව කියා ඌ අල්ලා ගෙන ඒමට රාම කුමරු පිටත් කළ බව. අයියන්ඩිට අනවරයක්වි උදව් ඉල්ලනු ඇසුන බව කියා ලක්ෂමණ කුමරුත් පිටත් කළ බව. තරුණ වියේ වනිතාවක් තපසුන් දෙදෙනෙකු සමග ගත කළ දිවිය එපා වීමත්, තම එකම යෙහෙළිය වූ සුපනියාට කරදර කිරීමත් හේතු කොට ගෙන සීතා දේවිය කැමැත්තෙන්ම රාවණ රජතුමා සමහ මෙහි පැමිණි බව තහවුරු කිරීමට සාදක රාමායනයෙම තියෙනව නොවෙද?'' ඒ පැණය නැගුයේ නිළමේය.

''කට බොරු කිවත් දිව බොරු කියන්නෙ නැහැ කියල කතාවක් නිළමෙත් අහල ඇතිනොවැ. මෙතෙන්දීත් කීමට ඇත්තෙ ඒ ටිකම තමා.'' මගේ මුවින් එවදන් පිටවූයේ සිතා මතා නොව නිතැතින්ම ය.

''සීතා දේවිය සිත්වේදනාවෙන්ම තම යෙහෙළිය වූ සුපනියාගේ සුව දුක් විමසීමට රාවණ රජතුමාත් සමග ලක් පුරයට පැමිණියා. සීගිරියෙ මාලිගයට සීතා දේවිය කැන්දන්

ආවම රාවණ රජතුමාගෙ සිව් රුගේ සිව් දේවින් හතර දෙනාම කිව අන්සතු ලදක් මෙහි ගෙනවුත් තබා ගැනීමට අප කැමැති නැහැ. රකුවකින් ඉඩ ඇත්තෙ අවිවාහක ලඳුන් විනා අන් සතු ලඳුන් අනහ පුරයට ගෙන ඒම හෝ රඳවා ගැනීමට නොවෙයි කියා සීතා දේවිය සීගිරි මාලිගයෙ තබා ගැනීමට එරෙහි වුනා.

රාවණ රජතුමාගෙ සොහොයුරු විබුසෙන් කුමරු රාවණ රජයෙ නීති පහිවූ බැවින් ඔහුගේද අනුමැතිය ලැබුනෙ නැහැ. මහා බලකායෙන් යුතු කුඹුරුකම් කුමරු නොහොත් කුඹුකම් කුමරුත් රාවණ රජ තුමාගෙ අකටයුත්තට අනුමැතිය දුන්නෙ නැහැ. රාම රාවණ හටන් පටන් ගෙන හය මසකට පසුවයි කුඹුකම් කුමරු හටනට ගියේ. එනිසාම එතුමාටත් පදයක් හැදුන, හය මාසයක් නිද සිටින්නෙක්ය කියා. රටේ ජනතාවත් මේ කරුණ ගැන පිල් බෙදුන,

සීතා දේවියටත් රටතුල සතුරන් වැඩිවුනා, රාවණ රජ තුමා සීතා දේවියට අනතුරු වලින් රැකවරණ ලැබීමට ගුරුළු මන්තර පොතකුත් දී ඇය ගුරුළුපොත ගල්ලෙනක රැඳෙව්ව. ඇය ගුරුළු මන්තර කටපාඩම් කර ගෙන එම පොත ලෙන අසල මිහිදන් කළා. ඉන්පසුව තමා එතැන ගුරුළුපොත නම් වූයේ.

රාම කුමාරයත්, ලක්ෂමන කුමරුත් සීතාදේවිය සෙවීමට පටන් ගෙන ඇය ලක් දිවට ගෙන ගොස් ඇති බව දැන සීතා දේවිය සිටින තැන සොයා ඇය ලක්දිව සිටීමට කැමතිද නැතිනම් ආපසු හින්දියාවට යාමට කැමැතිද විමසීමට හනුමාන් නමැති සෙන්පතියෙකු මෙහි එව්ව.'' මෙහිදි මහරගේ කතා වට අවහිර වූයේ නිළමේගෙ මැදිහත්වීමය.

''පොතේ හැටියට සීතාදේවිය ලක්දිවට ගෙන ආ බව දැනගෙන ඇත්තෙ, සීතා දේවිය දඬුමොණරයේ එද්දි ඇගේ අබරණ, සළු පිළි ගලවා යානයෙන් ඉවතට දමා තිබූ ඒවා ඔස්සේ යාමෙන් බව සඳහන්. නාඳුණන කෙනෙකු සමඟ තනිව සිටිද්දි එසේ සළු පිළි ගලවා දමාවිදෝ යන්නයි පැණය නිළමෙ කීවේ සීතාදේවියගෙ මෙහි ඒම ගැන සවිස්තරව දැනගැනීමට විය හැකිය,

"අනවැසි පැණ අහන්න එපා නිළමෙ. සිදුවීම් කොහොම වුනත් කිව යුතු දේත්, නොකිවයුතු දේත් තිබෙන බව හිතන්න." කී මකර තම කතාව නැවත පටන් ගත්තේය.

'සීතා දේවිය මෙහි ගෙන ඒමෙන් පසු රට හැම තැනම ටික ටික කල බැගින් නැවැත්වුව. හනුමාන් මෙහි එන විට සීතා දේවිය සිටියෙ සීතා එලියෙ. හනුමාන් සීතා දේවිය සොයා සීතා එලිය පෙදෙසටත් ආව. හනුමාන් මෙරට සැරිසැරූ කාලෙ අපෙ ඇත්තො ඔහු හැඳින්නුවෙ හොකු බක්ක. හොක්ක හක්ක ආදි නම් වලින්. අපේ ඇත්තො කිසිවෙකුත් ඔහුට නවාතැන් දුන්නෙ නැති බැවින් ඔහු රැය ගතකළේ නුවර හෙළය, නුවර හෙළිය නොහොත් නුවර එලිය අසල වූ කන්දක ගල් ලෙනක. එනිසා ඒ කන්ද හක්කගෙ ගල නොහොත් හක්ගල නම් වුනා.

සීතා දේවිය නුවර එලියෙ අසෝක වනයෙ ඉන්දදී හනුමාන් එහි ගොස් සීතා දේවිය හමුවුනා. හමුවී රාමකුමරුගේ පේරුස් මුදුව පෙන්වා රාමකුමරුගේ අණ පරිදි ඇගෙන් විමසුයේ "රාම කුමරු මට කීව ඔබ තුමිය නැවත රාම කුමරු වෙත යාමට කැමතිද, නැති නම් මෙහි හොඳද දැන ගෙන ඒමට." යි අසා රාම කුමරුගේ පණිවුඩය දුන්න.

"මා ආපසු යන්න කැමැති නැහැ. මට මෙහෙ හොඳා" යයි සීතා දේවිය කිවම රාම කුමරුගේ උපදෙස් පරිදි හනුමාන්ට ඇවැසිවූයේ සීතා දේවිය නසා ලීමටය. රැකවරණට නවත් වනිතාවන් යොදා සිටි බැවින් සීතා දේවියට හානියක් කිරිමට හනුමාන්ට නොහැකි විය. කළ හැකි එකම දෙය අවට පැතිර තිබු වියලි ගිය මානා ලන්දට ගිනි තැබීමය. ඔහු එය කළේය. එහෙත් අවට සිටි රැකවරණ දුන්නවුන් වතුර මතුරා ඔවුන් සිටි පෙදෙස අවට ඉසීමෙන් ගින්න එපෙදෙසට ලං නොවිය.

එම අසිරිය ගැන සීතා දේවිය අසල සිටියවුන්ගෙන් විමසූ විට ඔවුන් කීවෙ ඔවුන් ගිනි සිසිල මතුරින් වතුර මතුරා ඉස්ස බවය. ගුරුළු පොතේ තිබු ගිනිසිසිල මතුර ඇයට සිහිවිය.

දොලොස් වසරක හටනකින් පසු රාවණ රජතුමා පරදවා රාම කුමරු සීතා දේවිය ලබා ගැනීමෙන් පසු සීතා දේවියට ගිනි සිසිල මතුර සිහිවිය. තම පිරිසිදු බව පෙන්වීමට ගිනි සිසිල මතුර මතුරාගෙන ඇ ගිනි ගොඩට පැන්නාය. ගින්නෙන් ඇයට කිසි හානියක් සිදු නොවින.

සීතා දේවිය ගින්නට පැන්න තැන අද දිවුරුම්වෙල නමින් හැඳින්වේ.

"රාම කුමාරය සීතාදේවියත් රැගෙන හින්දියාවට ගියාට පසු දෙදෙන එකට විසුවෙ නැහැ. වෙනත් පිරිමියෙකු සමග දිවි ගෙවූ කතක් තම මෙහෙසිය ලෙස තබා ගැනීම මදිකමක් බව ඔහු සිතුවා. ඒකට එක් හේතුවක් තමා දඬුමොණරය නොහොත් රාවණ වාරිය. දඬුමොණරය සෑදීමට ගත් දැව ගත්ත ගස කැපීමට පෙර රකු වතෙත්, හෙළවතෙත් පැවත ආ සිරිත් විරිත් කලේ නැහැ. ගසක් කැපීමට පෙර ඒ ගස අසල දින ගණනක් ඒ ගසේ වසත අපේ මිය ගිය ඇත්තොවන යකුන්, රකුන්, දෙවියන් ආදීන් එම ගසින් ඉවත් වන ලෙසට කන්නලව් කරලයි ගස කපන්නෙ. නමුත් විස්කම්ට තිබූ හදිසිය නිසාම හෙළ වත ගැන අමතක කර පිදුම් නොකරම ගස කැපුව. දැව අරන් වාරිය සැදුව. ඒ නිසා වාරියට සාපයක් වැදුන. ඒ නිසා එය පරිහරණය කළ හැම දෙ නෙ කු ම අසහනයට පත් වුනා.

එය සාද පරිහරණය කළ විස්කම් කුවෙරගෙන් තෑළුම් කෑව. විස්කම්ගෙන් එය පැහැර ගෙන පරිහරණය කළ කුවෙර රාවණ රජතුමා අතින් පැරද රටත් හැර යෑමට සිදුවුනා. කුවෙර ගෙන් වාරිය ගත්ත රාවණ රජතුමා රාම කුමරු අතින් පරාජය ලැබුව. රාවණ රජතුමාගෙන් වාරිය ගත්ත රා ම කුමරුට සීතා දේවිය ලැබුනත් ඉන්පසු දෙන්නට එ ක ට ඉන්න ලැබුනෙ නැහැ. රාම කුමාරය රජ මාලිගයෙ සිටිය. සීතා දේවිය ඉසිවරයෙකුගෙ ආරාමයෙ සිටිය. සීතා දේවියට ලැබුන කුමරුවන් දෙදෙනෙකුට රාම රාවණ කතාව ගීයෙන් ගොතා ඒ ඉසිවරය කට පාඩම් කරවා රට හැම කැ න ම

ගැයීමට සැලැස්සුව. අන්තිමේදී රාම කුමාරයගෙ රාජ සබාවෙත් ඒ කුමරුවන් එම ගී ගැයුව. ඒ අසාගෙන සිටිය රාම කුමාරයගෙ දෑසින් කඳුළු කඩා වැටුන. ඉන්පසු සීතා දේවිය මාලිගයට ගෙන්වා ගත්ත.'' මකර කතාව කියාගෙන ගියා.

(සීතා දේවියත්, රාම කුමාරයත් සම්බන්ධයැයි සඳහන් වන කරුණු ගණනාවක් මකර කියාගෙන යද්දී නිලමෙ අතුරු පැන කීපයක්ම ඇහුවා. තමා තුළ ඇති වී තිබෙන සැක හැර ගැනීම සඳහා මෙ පැන නගින බවත් ඔහු කීවා. ඒවාට කෙටියෙන් පිළිතුරු දුන් මකර අසන ලද සෑම ප්‍රශ්නයකටම පසුව පැහැදිලිව උත්තර දෙන බවත් මකර සඳහන් කළා. රාමායනය ලියැවී තිබෙන ඇතැම් සිදුවීම් ගැනත් නිළමෙ නොයෙකුත් පැන නැගුවා)

''හැබැටම මකර දූන් දූන් මටත් පෙණෙන හැටියට රාමායනයෙ ලියල තියෙන්නෙ සිදුවුනායැයි හිතන්න බැරි දේ නොවැ. ඕව මකර වගෙ ඒ කාලෙ හිටිය කෙනෙකුගෙන් ම දූන ගන්නව විනා දූන් අය දන්නෙ නැහැ නොවැ.'' මා කීවේ මගේ නොවක් හැඟීම් ය.

''ඊට හේතු බොහොමයි බඳුරු, තමුන්ගෙ කුණු වහගන්නත්, තමුන් ලොකු කර පෙන්වන්නත් මිනිසුන් කතා හදනව. බඳුරුත් දන්නවනෙ දූන් සමාජය ගැන. දූන් විතරක් නොවෙයි ඒ කාලෙත් ඔය නියදම තිබුණ.''මකර කීවේ තරමක් කල්පනාකාරීවයි.

''හැබැටම මහත්තය මාත් මෙතෙක් නොදූන සිටි කරුණු බොහොමයක් දූන ගත්ත. මමත් රාමායණය කිහිප වරක්ම කියවා තිබෙනව. මා හිතන්නෙ ඔය කතාව සුර-අසුර යුද්දයටත් සම්බන්ද ඇති'' ඒ කීවෙ නිළමෙ.

නිළමෙ මළ යකෙකු වුවත් ඉතිහාසය ගැනත් උනන්දුවක් දක්වූ බව පෙණුනි. ඔහු ජීවත්ව සිටියදීත් සිංහළයා ගැනත්, සිංහළයාගෙ ඉතිහාසය ගැනත් එතරම් ඇල්මක් ඇතිවීමට හේතුව පුනරුත්පත්ති මතක සටහන් විය හැකිය.

''ඔය සුර අසුර කතාව හැදුවෙත් බමුණෝමයි. ඒ කාලෙ අපේ ඇත්තො බමුණන්ගෙ ගිනිදෙවිය පිදීමට, සතුන් පණ පිටින් ගින්නට දැමීමට අවහිර කළාම බමුණන්ගෙ ගෝල බාලයො ඇහුව ''අපි වඳින, පුදන, පුද පූජා පවත්වන දෙවියන්ටත් වඩා ඔය යකුන් රකුන් බලවත්ද'' කියා. එයට බමුණෝ දුන් පිළිතුර තමා'' ඔය අපේ පුද පූජා වලට අවහිර කරන්නෙ අසුරයො. අසුරයො සුරයින් නොහොත් දෙවියන් සමගත් සටන් වදිනව.''

''කියන්න මකර කියන්න. මහයට කියා දෙන්න අපේ අතීතය ගැන. කවද හරි මහය අපේ අතීතය ගැන අපේ නව පරපුරටත් කියා දේවි. ඔබ කී හැම දේම මාත් අහගෙන හිටිය.'' ඒ කීවේ ජන්තුය. ජන්තුත් එහි සිටි බවක් මා එතෙක් නොදත්තෙමි.

''ඒ කාලෙ හින්දියාවෙ තිබුන තමන්ගෙ යටත් විජිත බැලීමට රාවණ රජතුමා නිතර ගියා. රාම කුමරුත්, ලක්ෂමන කුමරුත් සීතා දේවියත් තපස් රැක්ක දණ්ඩක වනයත් රාවණ රජතුමාගෙ යටත් විජිතයක්. ඒ අයත් රජ පවුලක නිසා රාවණ රජතුමා ඒ අයට සැලකුවෙ සම තත්වයෙන්. රාවණ රජතුමා තම රජදහනට ගිය හැම වතාවකම ඒ අය බලන්න ගියා.'' මකර නැවතත් රාම රාවණ කතාව මතුකලේ ජන්තුගෙ ඉල්ලීම අනුවය.

රාම කුමාරය මෙලොවට බිහිවුනේ රාවණ රජතුමා පරදවල බමුණන්ට සැනසිල්ලෙ යාග හෝම පැවැත්වීමට ඉඩ කඩ සැලසීමටයි. රාවණ රජතුමාගෙනුයි, එතුමාගෙ හමුදාවෙනුයි බමුණන්ගෙ යාග හෝම වලට අවහිර ඇති වෙනකොට බමුණෝ, ''අශ්වමේධ යාගය'' නම් යාගයක් කළා. එයින් කළ එකම ඉල්ලීම රාවණ රජතුමා පරදවා බමුණන්ට නිවි සැනසිල්ලෙ යාග හෝම පැවැත්වීමට ඉඩ කඩ සලස්වා දීමයි. ඒ අනුව විෂ්ණු දෙවියො උන්වහන්සෙගෙ දස අවතාර වලින් එකක් වන රාම අවතාරය ලෙස භාරතයෙ පහළවුනා. ඒ රාම කුමාරයයි, සීතා දේවියයි රාවණ රජතුමා නැසීමට යෙදූ එක් උපායක්.

සීතා දේවිය ගැන කියවෙන්නෙ ඇයත් මෙලොවට බිහිවූයේ මව් කුසකින් නොවෙයි. සීතා දේවියගෙ පියාණන් වන දසරථ රජ තුමා මිහිකත නැමැති කෙතේ තම නගුලෙන් සී සෑ තැනින් නොහොත් හී විටෙන් බිහිවූ බවයි සඳහන් වන්නෙ. සීතා දේවියගෙ මැණියන් මිහිකතට සම කර තිබුනෙ ඇයට ඉහලම තැනක් දීමටයි. මිහිකත වැනි කෙතෙහි දස රථ රජතුමාගෙ නගුලෙන් හැරූ හී විටෙන් සීතා දේවිය බිහිවීම කලා කරුවෙකුගේ හපන්කමක සේයාවක්. දැන් තේරුණාද? බදුරු.'' මකර මදක් නිහඩ වූයේ මට එය නොතේරුනෝයැයි සිතාය.

සූපනියාට කරදර කිරීමෙන් පසු රාම කුමරුත් ලක්ෂමන කුමාරයත් නිතර විමසිලිමත්වයි සිටියෙ. කිසි විටෙක සීතා දේවිය තනි කළේ නැහැ. රාම කුමරු තෙමුහුතෙ එක් මුහුතක් වුවත් සුර අසුර හටනකුත් පැවති නිසා සිටියෙ විමසිලිමත්වයි.'' මකර කියාගෙන ගියා. මෙහිදීත් නිළමෙ හරස් පැණයක් නැඟුවා.

''සමාවන්න, මකර බුහුමතාණෙනි. මට එක් පැණයක් අහන්න අවසර.'' නිළමේ කීවෙ ඉතාමත්ම යටහත් බවින් සහ ඕනෑ කමින්ය.

''ඔව් නිලමෙ, මා දන්නවා නිළමෙ අහන්න යන පැණය මා හිතුව ඔය පැණය බදුරු මගෙන් අසාවිය කියා. ඒ නිසාම මා එයට පිළිතුරු දෙන්නම්.''

බොදුනුවන් අදහනව හෙළදිවේ බුදු සසුන රැකීම විෂ්ණු දෙවියන්ට බාර කළ බව. එහෙම නම් ජීවිත කාලයක් තුලම හින්දු දහමට පටහැනි දහමක් දෙසූ බුදු රදුන්ගෙ දහම රැකීමට හින්දූන්ගෙ ලොකුම බලවතා වන විෂ්ණු දෙවියන්ට බාර දෙයිද?'' මකර මොහොතක් නිහඩ වුනා.

''එහෙමයි බුහුමත' මා අසන්න සිතුවෙ එය තමා,'' නිළමෙ පිළිතුරු දුනි.

''එහෙනම් අහගන්න. ලක්දිව බුදු සසුන පැතිරීමෙන් පසු ලක්දිව පෙර තිබූ ඇදහීම් යටපත්කර හින්දීය හුරුව පැතිරීමට සෑහෙන වෙරක් දැරුව. ලක්දිවට බුදු දහම ගෙනෙන විට විෂ්ණු දෙවියන් වැනිම හෙළදෙවි කෙනෙකු සිටිය. ඒ තමා උපුල්වන් දෙවියො. උන්වහන්සෙ ආත්ම ගණනාවක්ම හෙළදිවේ හෙළයො ලෙස උපන් කෙනෙක්. අප දන්නා තර මට පළමු උපත රාවණ රජතුමාගෙ මී මුත්තෙකු ලෙස වසර පන්දහස් පන්සියයකට පෙර උපුලදිස, උයතු ලොප්වී පුලදිස පුලතිස නොහොත් පුලස්ති වූ වෙදනාවනුයි. එතුමා පැහැයෙන් කළු පැහැයයි. ඊළඟ ආත්මය එතුමා කොත්මලේ මහමෙවන් නමින් ඉපිද රජවී උපුල්වන් නමින් දෙවි වුනා. හැම අත්බැවකම එතුමා පැහැයෙන් කළු පාටයි. කෙනෙකුට කළු යැයි නොකියා උපුල් මලේ පැහැය යැයි කීමට උපුලක් සේ දිස්වී යනුවෙන් උපුලදිස නම වුනා. තිස නොහොත් තිස්ස නම ඇතිවූයේ එහෙමයි. හෙළ පරපුරේ ති ස යි න් බොහොමයක් හිටිය. එයින් කියැවුනේ ඒ තැනැත්තාගේ පැහැයයි. නොහොත් හැඩ රුවයි. ඔබ අහල ඇති වංකනාසික තිස්ස නම රජෙකු සිටිය. ඒ, ඔහුගේ නැහැය වක්ව දිස් වූ නිසයි. කාවන්තිස්ස රජු කාකයාගේ පැහැය ඇති නොහොත් කළු පැහැ තැනැත්තා යනුයි. දූන් වැටහුනාද?'' නෙතින් නොදුටුවද පැනය නහා මකර මා දෙස බැලූ සැටි මගේ සිතෙහි මැවී පෙණුනා.

''එනිසා බදුරු ඔබට හැකිනම් පැහැදිලි කර දෙන්න, ඇත්ත හෙළි කරන්න. බුදු සසුන රැකවරණ සතු කලේ උපුල්වන් දෙවියන්ටයි. ආදී හෙළයින් වන අප බොදුනුවන් නොවුවත් අපි බුදු දහමට ගරු කරනව. එම දහම අපි රකිනව. එනිසා සිතේ දරාගන්න, බුදු සසුන රැකීමට පත් කලේ හින්දුන්ගෙ මහම දෙවියෙකු වන විෂ්ණු දෙ වි ය න් නොවෙයි උපුල්වන් දෙවියන්. තේරුණාද? ''මකර කීයේ තරමක් තද බවෙකිනි.

''මකර ඔබේ කතාවෙන් මා නවත් දෙයකට යොමු වුනා. හෙළයෙකුව දිවි ගෙවා මරණින් මතු උපදින දෙ වි ය න් හෙළ දෙවියන් විය යුතුයි. ලක්දිව රකින සිව් වරම් දෙවියන්

දුරුරාෂ්ඨ, විරූඪ, විරූපාක්ෂ, වෛශ්‍රවණ නම් වූ දෙවිවරුන් සතර දෙනෙකු බව සඳහන්. ඒ නම් හෙළ නම් නොවෙයි. ඒ අය හින්දු දෙවියන් වියහැකි නොවෙද?'' මා විමසුමයේ සැකයක් දුරු කර ගනුවස්ය.

''ඔබෙ අදහස හරි බදුරු, රාවණ යුගයෙන් පසු සිව් හෙළය නොහොත් සී හෙළය රැකීමට සිව් වරම හෙළ දෙවි වරු සිටිය. ඒ සුමන, සමන්, කන්දෙ කුමාර නොහොත් කඳ කුමර, උපුල්වන් සහ විබුසෙන් නොහොත් විභීෂණ යන දෙවි වරුන්. මෙයින් දෙදෙනෙකු හින්දු දෙවිවරුන්ගෙන් වැසී ගොස්. නැවතත් එම සිව් වරම හෙළ දෙවිවරුන් පෙරටු කිරීම ඔබට කළ හැකියි.

කඳ කුමර දෙවියන් රාවණ රජතුමා පරලොව යාමෙන් පසු මහසෙන්ව ඉපිද පරලොව ගොස් ලැබූ දේවත්වයයි. කුමාරවරුන් හය දෙනෙකු එකට තදකර මැවූ හින්දු දෙවි කෙනෙකුත් ඉන්නව. කුමාරවරු සය දෙනාගෙ හිස් හයකුත් අත් දොලොස්කුත් පෙන්වූවත් පා දොලොසක් පෙන්වා නැහැ. කන්දෙ කුමාර දෙවියන් පෙර අත්බැවෙ මහසෙන් නමින් ලකත්, තවත් රජයන් පහකුත් පාලනය කළ ඔටුනු හයක් හිමි රජකෙනෙක්. එනිසා එතුමාට ඔටුනු සයක් පැලඳීමට හිස් හයකුත් නිරූපනය වුනා. එනිසා ඒ සමාන කම අනුව හින්දු බලපෑම වැඩිවෙත්ම කඳ කුමර දෙවියන් හිස් සයේ හින්දු දෙවියන්ගෙන් වැසී ගියා.

කල් යාමේදී ලක් දිවෙ හින්දු බලපෑම වැඩිවන විට උපුල්වන් දෙවියන් විෂ්ණු දෙවියන්ගෙන් වැසී ගියා. ඉතිරි වුනේ සුමන සමන් දෙවියනුත්, විබුසෙන් නොහොත් විභීෂණ දෙවියනුත් පමණයි.

හෙළයාගෙත්, හෙළදීවෙත් රැකුම් පනා අප පින් දිය යුත්තෙත් රැකවරණ ඉල්විය යුත්තේ ඉහත සඳහන් සිව් හෙළ දෙවිවරුන්ගෙනුයි. මෙ බව ඔබට හෙළයින්ට නොහොත් නවින සිංහලයින්ට කියා දිය හැකියි. එම දෙවිවරුන්ගෙන්

පිහිට පැතුවොත් හෙළ දූය රැකෙනු ඇත.'' හෙළ දෙවිවරුන් ගැන මකර දිගු විස්තරයක් දුනද එය මෙහි සැකෙවින් සඳහන් කළෙමි.

වේලාව දහවල් දොළහ පමණ විය. කාමරය තුළ මාවවුලෙක් වහලයේ ගැව් නොගැව් තුන් වරක් වට රවුම පියාසර කළේය. දොරගුළු ලා තිබූ කාමරය තුලට මහ දවාලේ මා වවුලෙකු කෙසේ ඇතුලුවූයේදැයි මට සැකයක්ද ඇතිවීය. වවුලා ජනේලයෙන් ඇතුළු නොවූ බව මට සහතිකය. කලින් දිනෙක රැයක ගම් වැසියන් කිහිප දෙනෙකු සාලයේ කතා කරමින් සිටි අතර මා වවුලෙක් එහි ඇතුළුව ගෙතුළ පියාසර කළ විට ගැමියෙක් කීවේ ඌ නම් නියම වවුලෙකු නොවෙයි, හොල්මනක් විය හැකි බවය. එයද මසිතට නැගුනි. කාමරය තුලට ආ වවුලාද හොල්මනක් විය හැකියැයි මට සිතින.

මකර මොහොතක් නිහඬ විය. ''බඳුරු දන්නවද ඒ ආවෙ කවුද කියා. උගෙ නම කේශර. රාවණ කතාවෙ ඇත්ත කියනවට උන් කැමැති නැහැ. ඌ රාවණ හටනෙදී මිය ගිය එකෙක්. මරණින් පසුත් මෙහිම රැඳුන. මහතලාවෙදියි ඌ මියැදුනේ. ටිකක් ඉන්න බඳුරු මා ඌට පාඩමක් උගන්නල එන්නම්.''

ටික වේලාවකට පසු මකර නැවත කතා කිරීමට පටන් ගති. ''ආයි නම් ඌ මෙහි එන්නෙ නැහැ. රිටිගලිනුත් එහාට එලවලයි ආවෙ.''

''රාවණ රජතුමාගෙ කාලෙ ඇඳුම් ගැන විස්තරයක් මකරට කියන්න හැකිද?'' මා ඇසුයේ සිගිරි වනිතාවන්ගෙ ඇඳුම් ගැන සිතමිනි.

''පුළුවන්. ඒ කාලෙ අපෙ ඇත්තො ඇන්දෙ ඉතාම සැහැල්ලු ලෙසටයි. පරිසරයටත් දේස ගුණයටත් ගැලපෙන විදියටයි ඇඳුම් ඇන්දෙ. පළමු අරමුණ විලි වසා ගැනීමයි. රූ සපුවෙන් වැඩි අය ඇඳුම් වලින් දැකුම්කළු බවක් මැවීමට

නැත් කළේ නැහැ. පිරිමින් ඇඳුමට වඩා ගරු කළේ සවිමත් සිරුරකටයි. එබඳු සවිමත් සිරුරක් සහමුලින් වැසීමට ඔවුන්ට උවමනා කළේ නැහැ. හැඩ වැඩ ඇති සිරුරත් කාය බලයත් තමා පිරිමියෙකු සතුවූ ලොකුම වටිනාකම. පිරිමින්ගෙ ඇඳුම වූයේ උඩුකය නිරුවත්ව දණහිස තෙක් ඇදි රෙදි කඩක් පමණයි. මල්ලව පොර, සටන් ආදියෙදි හිනෙන් පහල දෙකකුල් වෙන්ව වැසී සිටීමට දෙපාකඩ කම් ඇඳුමක් ඇන්ද. පිණුම් කරණම් ගැසීමේදී, පහර දීමේදී විලි වැසී සිටින සේ එය සකස්වී තිබුණ. සටන් වලදී දස්කම් පෑවුන්ට නලල් පටි පුදා තිබුණි. ඒ සටන් නයුවන්ට, නලල් පට ලද්දවුන් සමාජයෙ ඉහල තැනක් ලැබුව.'' මකර විස්තර කළා.

''ඒ විස්තරයට මකරට පින්. ඒ සමඟම වනිතාවන්ගෙ ඇඳුම ගැනත් කිව හැකිද?'' මා ඇසුව.

''බඳුරු මට පින් දුන්න. අපේ ඇත්තො පින් ලෙ ස සැලකුව මොනවද කියා බඳුරු දන්නවද? පින යනුවෙන් අපි හැඳින්වූයේ යමෙකුට උදව් උපකාරයක් කිරීමෙන් හෝ අසරණ විටෙකදී පිහිට වීමෙන් හෝ ඇවැසි විටෙකදී යමක් දීමෙන් හෝ කෙනෙකුගෙ සිත පිනවා තමාගේත් සිත පිනවා ගැනීමයි. එය තමා පින. එබඳු පිනක් කිරිමෙන් පසු තමා කැමැති යමෙකුටත් එම පින් පැමිණවීමට නැතහොත් දීමට ඇවැසි නම් අප කළ ඒ යහපත් දෙය ගැන සඳහන් කර ඒ තැනැත්තාගෙත් සිත පිනවා ලීම පිනක් සේ අපි සැලකුව. කෑම බීම දීමෙන් හෝ සතුටු සාමීචියෙන් හෝ උදව් උපකාර කිරීමෙන් හෝ අප කළ පින් අප අතර දිවි ගෙවා අපෙන් වෙන්ව රකුලොවට ගියවුන්ටත් අපි පමුණුවනව. ඒ පින් ලබා අපේ මියගිය ඇත්තො අපව රකිනව, අපට උපකාර කරණව.'' මකරගෙ දෙසුම වෙනත් අතකට හැරුණේයැයි මට සිතුනි. කෙසේ හෝ වේවා පින යන්නෙහි අළුත් අරුතක් මම උගතිමි.

''ඉතින් මකර මා දැන් පිරිමි ඇඳුම ගැන දැනුමක් ලබා ගත්ත. වනිතාවන්ගෙ ඇඳුම ගැනත් විස්තරයක් දිය හැකිද?'' වනිතා ඇඳුම ගැන මකරට සිහි කළෙමි.

''වනිතාවන්ගෙ ඇඳුම් ගැන හදුරන්න යන්න සීගිරියට. හැබැයි, රාවණ රජතුමා ඇන්ද සිතුවම් මත කසුප් රජතුමා ඇන්ද කොටස් ඉවත් කර බැලිය යුතුයි.'' බදුරු කියත්ම ඔහුගේ මඳ නිහඬතාවය අවසන් වීමට පෙර මා කීවේ ''හරි වැඩක්නෙ මකර, ඔබ කියන්නෙ මට සීගිරි ලඳුන්ගෙ ඇඳුම් ඉවත් කරන්න කියලද? ඒක කරන්න බැරි දෙයක්නෙ.'' මා කීවේ දෙපිට කැපෙන ලෙසටය.

''නැහැ බදුරු, නැහැ. ඇඳුම් උනා ලන්න කීවෙ නැහැ. රාවණ රජතුමා ඒ වනිතා රූ ඇන්දෙ ඒ කාලෙ හැටියටයි. කසුප් රජතුමා එතුමාගෙ කාලෙ වනිතාවන් ඇඳි ඇඳුම් අනුව ඒව වෙනස් කර සිත්තම් කළා. ඒබව සීගිරි කුරුටු ගී වලත් සඳහන් වෙනව.

අපේ කාලෙ වනිතාවන් තනපට බැන්දෙ විවා වූවායින් පසුවයි. විවාවීමට පෙර දණ හිස තෙක් වැටුන රෙදී කඩක් ඇන්ද. උඩු කය නිරුවත්. උත්සව වලදී උඩු කය මල් දම් වලින් සරසා ගන්නව. සීගිරියෙ ඇත්තෙ විවාපත් නොවූ තරුණියන් පන්සියයක් පස් මහ නැටුම් නැටි සැටියි. එය තරමක් දිගු විස්තරයක්, මා එය පසුව කියන්නම්.'' මකර එය කල් දැමුයේ කුමක් නිසාදැයි මට නොවැටහින.

''මේ අහන්න මකර, අප දෙදෙනාට කතා කළ හැකි වනුයේත් එමගින් අතීතය හාරා අවුස්සා බැලිය හැක්කේත් නිළමේ කොග්ගල මහතා තුල සිටින තෙක් පමණයි. නිළමේ බැඳ දැමීමට යකැදුරන් කොයි මොහොතේ පැමිණේදැයි කිව නොහැකියි. එය අදම විය හැකියි. හෙට හෝ විය හැකියි, එනිසා ඇසිය යුතු යමක් කල් නොයවාම අසා දැන ගත යුතුයි. එසේ වුවොත් අපට මේ සඳහා නැවත අවසර නොලැබෙය යනු මගේ හැඟීමයි.

''නැහැ බදුරු අපට තව දින හතරක් කල් තිබෙනව. ඒ හොඳටම ඇති. ''ඔහු කීවේ ඇත්තමය.

# රාවණා යුගයේ සමාජය

කොග්ගල මහතාට අසනීප වූ දින පටන්ම කොග්ගල මහතාගේ ගෙදර අමුත්තන්ගෙන් හිඟයක් නොවීය. එ කොග්ගල මහතා අසනීපව සිටි ලුණුගල පලාතට පමණ සීමා වූවක් නොව ලක්දිව සිංහලයින් වසන කුමන පලාත වුවද පවතින සුහද තාවයේ සලකුනකි.

කොපමණ දෙනෙකු පැමින සිටියද දිවා ආහාරය වැ තුරුම කොග්ගල මහතාත්, මාත් සිටි කාමරයට කිසිවෙ නොපැමිණියෙන් කිසිදු අවහිරයකින් තොරව අතීතයෙ ආ අමුත්තන් සමග අතීතය ගැන කතා බහ කිරීමටත් විස්තර අසා දැන ගැනීමටත් හැකිවිය.

මා සිතුවේ එය එසේ වූයේ තිලමේගේ බලපෑමකින් යනු වුවද කිසිවෙකුට කාමරයට ඇතුළුවීමට නොදී වලක්ව ඇත්තේ කාමරයෙන් පිට උකවලෙහි යෙදී සිටි බණ්ඩා විසින්

තවත් කිහිප දෙනෙකු සමග මා දිවා ආහාර ගනිද් කෑම මේසය අසලද කෑම නොගත් අමුත්තන් කිහිප දෙනෙ වූහ. ඔවුහු මා අවට සැරි සැරුවද කිසිවෙකුත් මා සමඟ කත බහට නො එලඹුනහ. ඔවුන්ගේ හැසිරීම අනුව මට වැටහ් ගියේ ඔවුන් මා සමඟ කතා බහට නොඑලඹුනේ මා කෙරෙ වූ ගරුසරු බවකින් බවය. තම දූරු කට්ටඩීන්ට මෙල්ල කළ නොහැකි වූ යකෙකු මෙල්ල කළ මට හිමිවූයේ වැදගත තැනකි.

පැමිණ සිටි අමුත්තන් අතර ලුණුගල කුඩා නගරයේ කොටසක් වන අත්තානගොල්ලෙ ආරච්චි මහතාද විය. එ ආරච්චි මහතා අපගේ එදිනෙද දිවියේදී කිට්ටුවෙන් ඇසුර කළ අයගෙන් කෙනෙකි.

"හා, සර් අපිත් ආවනෙ සර්ගෙ හපන්කම් බලන්න අපි දන්නෙ නැහැනෙ සර් ඔය තරම් දක්ෂ මන්තර කාරයෙක බව. මා හිතුවෙ සර්ට බය සුද්දො විතරයි කියල. දැ න

බලනකොට යක්කුත් බයයිනෙ.'' ආරච්චි මහතා කීවේ ඉතා සුහද ලීලාවකිනි.

''ඇයි? සර් සුද්දොත් මෙල්ල කරල තියෙනවද?'' ඒ ඇසුයේ කොග්ගල මහතාගේ ගමෙන් පැමිණ සිටි තැනැත්තෙකි.

''ඇයි නැත්තෙ? මේ පැත්තෙ වත්තක හිටිය එක විදිහක සුද්දෙක්. ඌ මේ පලාතෙ ඔක්කොම ඩ්‍රයිවර්ලට ගැහුව. දවසක් සර් ගිය කාර් එකේ ඩ්‍රයිවර්ට ගහන්න කාර් එක නැවැත්තුවම අපේ සර් දුන්න සුද්දගෙ කම්මුලට පාරක්, නාරකැවිල වැටුන. ඊට පස්සෙ එයා මේ පලාතෙ ආවෙ නැහැ.'' එපමණක් නොව ආරච්චි මහතා කියාගෙන ගියේ මහා පුරසාරමකි.

''ආරච්චි මහත්තය, මා හිතනව ඒ සිද්දියත් කොග්ගල මහත්තයට වැහිල ඉන්න යකත් අහන්න ඇති. නිලමෙ මට බය වෙන්න ඒකත් එක හේතුවක් වෙන්න ඇති. ඔය අමනුස්සයො අපිට පෙණුනෙ නැතිවට අපිව උන්ට පෙණෙනව, අපි කරණ කියන දේත් උන්ට පෙණෙනව ඇහෙනව. ඒ අනුව හොඳ නරක මිනිස්සු උන් තෝර ගෙනයි ඉන්නෙ. උනුත් හොඳ චරිතයක් ඇති වටිනා තැනැත්තට ගරු කරණව. යමෙකු හොඳයි කියල අනිත් අය කියනකොට එයාගෙ හොඳ නම පැතිරෙනව. ඒ අහන අයත් එයාට ගරු කරණව. ඒ වගෙම නරක අතට ප්‍රසිද්ධියක් ලබල ඇති අයට යකෙකු වත් මළ පෙරේතයෙකුවත් ගරු කරන්නෙ නැහැ.'' මා එසේ කීවේ නිදසුන් සහිතව යමක් පෙන්වා දීමෙන් එතැන සිටියවුන් යහමහට යොමු කළ හැකියැයි සිතීමෙනි.

''ඇහුනද සුගතෙ? ඕව හොඳට මතක තියා ගනින්.'' හීන්බණ්ඩෙ එසේ කීයේ සූරාචට සුදුවට නම ගිය තරුණයෙකුටය.

කෑම කන අතරම පැමිණ සිටි අමුත්තන්ගෙන් පලාතේ ඇති පැරණි තැන් ගැන විමසීමටද මම අමතක නොකළෙමි. ජන්තුගෙ වාසබවනය වූ රෙකුලාසි පාලම යට උමග ගම්මුන්ට තරමක් බිය දනවූ තැනකි.

''සර් දන්නවද ඔය රෙකුලාංසි පාලමෙන් කිසි කෙනෙකුට හැන්දෑවෙ කරුවල වැටුනායින් පස්සෙ තනිව එගොඩ මෙගොඩ යන්න බැහැ. ගියොත් පාලම ඇතුලට ඇදල දානව.'' ඒ කිව්වෙ ආරච්චි මහතාය.

''තවත් ඔය වගෙ උමගවල් මේ පලාතේ තියෙනවද'' මම පොදුවේ පැණයක් ඇසුවෙමි.

''ඇයි නැත්තෙ? තව කොච්චර තියෙනවද? අර පස්සර ටවුමට ටිකක් මෙහා හොස්ටල් එක ලඟ බෝක්කුව මහත්තය දැකල තියෙනවද? අර කිතුල් ගහක් හෙම තියෙන්නෙ?'' කීවේ සියාතු මාමාය.

''ඔව් මා දැකල තියෙනව. එතන පාරෙන් පහල හරි පල්ලම නේද?'' මම ඇසුවෙමි.

''අන්න හරි එතන තමා. එතන සිට කන්ද යටින් උමඟක් තියෙනවලු මඩුල්සීමට යන්න. අපි දවසක් බැහැල බැලුව. උමග ඇතුලට යන්න බැහැ හරි කරුවලයි. අන්න එතැන බලන්න හොඳ තැනක්. යමුද බලන්න?'' සියාතු සියං ඇසුවේ මහත් උනන්දුවකිනි.

''හපෝ මහත්තය මේ ඌවෙ ගල් ලෙන් උමගවල් කොච්චර තියෙනවද? ඒවායෙ සමහරක නිදන් තියෙනවලු. මේ ලඟම කොටගම කන්දෙ බොහොම පැරණි උමඟක් තියෙනව. එතන උමග පටන් ගන්න තැන ගල් ලෙන ලඟටම අපි ගිහින් තියෙනව. හැබැයි උමගට නම් ගියේ නැහැ.'' එසේ කිවේ ආරච්චි මහතාය.

''ආරච්චි මහත්තය අහල නැතිද ඔය කොටගම කන්දෙ තියෙන දේවාලෙ ගැන. හරි පැරණි තැනක්. කෙම්මුර දවස්වල පහන් පත්තුවෙනව දැකපු අය ඉන්නව. පූජාව පවත්වනව ඇහෙනවලු. කතරගම පෙරහැර කාලෙ කෙම්මුර දවස්වල ඒ දේවාලෙ බෙර සද්දෙත් ඇහෙනව.'' එසේ කීවේ එහි සිටි තවත් කෙනෙකි.

''හත්, දූත් තමා ඕත් මතක් වෙන්නෙ. මහත්තය ඕව ගැන හොයනව නම් හොඳම තැන තමා හන්තානෙ කඳු වැටිය. ඔය හන්තානට ලොකු ඉතිහාසයක් තියෙනව. කොහොඹ කංකාරිය නැටුවෙත් ඔය හන්තානෙ නොවැ. හන්තානෙ කන්දෙ කොහෙද මන් දන්නෙ නැහැ හරි පැරණි කාලි දේවාලයක් තියෙනවලු. ඇයි ඔය සාතාගිරි කියන යක්ෂ සේනාධිපතිය ඉන්නෙත් හන්තානෙ කියනව නොවැ. සියාතු සීය කියාගෙන ගියේ මහත් ඇදහීමකිනි.

''දූත් හැදෙන අපේ පැගිරො ඕව ගනන්ගත්තෙ නැතුට මේ ඌව පලාතෙ බොහොම භාස්කම් තියෙන තැන් තියෙනව. මහත්තය දන්නව නොවැ සෙල්ලකතරගම කන්ද?

''ඔව් මා දන්නව. මම ඒ කන්දට නැගලත් තියෙනව.''

''මහත්තය දන්නවනෙ පල්ලෙ පංගුවෙ පන්සල?''

''ඔව් දන්නව.''

''මහත්තය දන්නවනෙ පත්තිනි කුඹුරෙ පත්තිනි දේවාලෙ?''

''ඔව් මා ඒ දේවාලෙට ගිහිනුත් තියෙනව.''

ඉහත සඳහන් දෙබස පැමිණ සිටි අමුත්තන්ගෙන් සැත්තෑවියත් පසු කර ඇතැයි සිතිය හැකි තැනැත්තෙකුත් මාත් අතර ඇතිවූවකි. දෙබස අවසන් වන්ම ඔහු කීයේ එහි සිටි කිසිවෙකු අසා නැති කතාවක්ය.

'' හත්තයො, බොහොම ඉස්සර කාලෙ මේ පලාතෙ ගෙවල් දොරවල් තිබුනෙ බොහොම ටිකයි. වැඩියෙන් තිබුනෙ කැලෑව. ඒ කාලෙ දඩයමේ ගිය කෙනෙක් සෙල්ල කතරගම කන්දෙ දී මුවෙක් දැකල ඌ පස්සෙ එලවගෙන ඇවිත් තියෙනව. පල්ලෙපංගුවෙ පන්සල තියෙන තැනදි මුවාට විදල තියෙනව. මැරුණ මුවත් කරගහගෙන ගෙදර යනකොට ඔය පත්තිනි දේවාලෙ තියෙන තැනදි මුවාට පණ ඇවිත් පැනල දිව්වලු, ඊට පසුව තමා එතැන ඔය පත්තිනි දේවාලේ

හදල තියෙන්නෙ. ඕක මං පැහිර කාලෙ අහපු කතාවක්.'' අමුත්තා වෙනත් කිසිවෙකු නොදන් කතාව කියා හමාර කළේ සාඩම්බරෙනි.

''අනේ සියෙ, සිය පැහිර කාලෙ ඕක ඇහුවට මාත් ඔය කතාව අහල තියෙනව, හැබැයි මං අහල තියෙන්නෙ නම් විද්දෙ කොට්ටල් බැද්දෙදිලු. මුවා දුවල වැටුනෙ පල්ලෙ-පංගුවෙලු. එතැන සිට උස්සගෙන යනකොට පත්තිනි කුඹුරෙදි පණ ඇවින් පැනල දිව්වලු.'' ඒ කී වේ තරුණයෙක්.

එදින කෑම මේසයෙදි නිළමේගෙ මිතුරන්ගෙ එකතුවට දෙවැනි නොවීන. තවත් බොහෝ වැදගත් දේ කියැවුනද ඉතාම වැදගත් වූයේ සෘතාගිර නම් යක් සෙනෙවියා ගැන කවුදෝ කී කතාවය.

මේ වනවිට කොඟගල මහතාට ආවේශවී සිටි නිළමේගේ යහළුවන්ගෙන් ලක්දිවේ ඈත අතීතය ගැන විස්තර මා ලබා ගන්න බව බොහෝ දෙනෙක් දැන සිටි බැවින් ඔවුන් දත් බොහෝ ගැමි කතා දේව කතා යක්ෂ කතා ආදිය මට කියා දීමට ඉදිරිපත් වූවන් එමටය.

1956 දී මෙම කතාවට අදල සිද්ධිය වූ ලුණුගලට මෑත කදී ගිය මට පෙණී ගිය එක් දෙයක් නම් අපේ සමාජයක ගම්බද නිහතමානි ගම් වැසියන්ගෙ ඇදහීම්, හැසිරීම් සහ ජීවන රටාව බොහෝදුරට වෙනස් වී ඇති සැටිය.

කෑමෙන් පසු මද වේලාවක් පැමිණි සිටි අමුත්තන් සමඟ කතා බස් කළ අතර මා ඔවුන්ට කීවේ නිලමේ ඉන්න කාමරය තුලට අමුත්තන් පැමිණීමට නිළමේ නොකැමැති බවය. මා එසේ කීවේ අමුත්තන් කාමරය තුලට ඒ මට නිළමේගේ නොකැමැත්තක් නිසා නොව අතීතයෙන් එන අමුත්තන් සමඟ මට නිදහසේ කතාබස් කිරීමට ඉඩ සලසා ගැනීමටය.

''ආහ්, මහත්තය කෑම කැවද? පංච මහ භූතයින්ට අමතරව තවත් භූතයින් දෙදෙනෙකුත් එකතුව හැදිල තිබෙන මහත්තයලගෙ ශරීරයට වගෙ නොවෙයි එක භූතයෙකුගෙන් පමණක් හැදිල ඉන්න අපිට කෑම ඕනෑ නැහැනෙ, ඒත් මහම පුදුමය නම් මෙන්න මෙකයි. භූතයින් හතකින් හැදිල ඉන්න මහත්තයලට කවුරුවත් භූතයො කියා අමතන්නෙ නැහැ. නමුත් ඔය හතෙන් එක භූතයෙකුගෙන් පමණක් හැදිල ඉන්න මේ අපිව හඳුන්වන්නෙ භූතයො ලෙසින්.'' කෑමෙන් පසු නිලමේ සිටි කාමරයට ගිය මා නිලමේ පිළිගත්තෙ එසේය.

''ඒක ඇත්ත නිලමෙ. මේ ලෝකෙ සත්‍යයැයි පිළිගෙන ඇති බොහෝ දේ සත්ත නොවන බව පෙණෙන්නේ සියුම්ව කල්පනා කරන කොටයි. ඔය හැම දෙයක්ම පුරුද්දටත් සම්මතයටත් බාවිතා කරණව විනා ඕව ගැන සියුම්ව කල්පනා කරන්න මිනිසුන්ට වෙලාවක් නැහැනෙ. නිළමෙට නම් වෙන වැඩක් පලක් නැහැ. ඔහෙ ඕව ගැන කල්පනා කර කර ඉන්න හැකියි. අපිත් නිලමෙගෙ තත්ත්වයට පත්වුනාම සමහර විට ඕව ගැන කල්පනා කරන්න පටන් ගනීවි.'' මා එසේ කීවේ එය හැම අතටම ගැලපේ යැයි සිතමිනි.

''හරියටම හරි මහත්තය. ඔය හැම දේකම ඇත්ත නැත්ත සොයන්නෙ එහෙනම් මළයක්කු පමණයි. එහෙනම් මළයක්කුත් හරි වැදගත් ජාතියක්. මට පුළුවන් කමක් තියෙනව නම් ජීවත්වෙල ඉන්න හැම එකෙක්ම මළ යක්කු කරණව. එතකොට මේ රට කොතරම් සුන්දරද? එහෙම නම් අපේ හරබර ජාතික අතීතය නැවත මතුකර ගතහැකියි. ඒ අතීතය අනුව සහමුලින්ම බැරිවුනත් ටිකක් හරි අපේ ජාතියත් විනාශ නොවී පවත්වාගෙන යාමට යොමු වෙවි. කොහෙද දැන් ඉන්න සමහරුන්ට රටක් නැහැ ජාතියක් නැහැ බාසාවක් නැහැ ආගමක් නැහැ. සංස්කෘතියක් නැහැ'' හදිසියේම මගෙ කතාවට අවහිර කළේ නිළමේය.

''හා හා නිලමෙ පොඩ්ඩක් ඉන්න. නිළමෙට තරහ ඇවිත් වගෙයි. දැන් සිදුවන දේ දැක්කම නිළමෙට වඩා අපිට

නරහ ආ යුතුයි. නිලමෙ තේරුම් ගන්න ඕනෑ කිසිම දෙයක් සදකාලික නැහැ. නිලමෙට වඩා ආලයෙන් ආදරයෙන් අපි අපේ දූය රැක්කා. දූය වෙනුවෙන් දිවි පිදුව. නමුත් කාලයාගෙ ඇවෑමෙන් ඒ දූ ඇල්ම දූන් අයට නැතිව ගොස් ඇති බව නිලමෙ දන්නෙ නැතිද? දූන් වගෙන් නොවෙයි තවත් ඉරිදියට දූය නැසුම තව තවත් දරුණු වෙයි.''

මකරද කතා කළේ තරමක සිත් වේදනාවකින් බව පෙණින.

''ආහ්. එහෙනම් මකරත් ඒව අහගෙන හිටිය. මකර එහි සිටි බවක් මා දන්නෙ නැහැ. මා සිතා සිටියෙ කෑමෙන් පසු මකර ගෙන්වාගෙන ඒ ගැන තවත් විස්තර මකරගෙන් ලබා ගැනීමටයි. දූන් එයට ඉබේම වැඩ සැලසුනා.'' මා මගේ සතුටද පැවසුයේ අතීත විස්තර ලබා ගැනීමට මකර දිරිමත් කිරීමටය.

''ඔව් මහය, මා එතන සිටිය. මා පමණක් නොවෙයි ජන්තු, සුගුණ, පිනා ආදීනුත් එහි සිටිය. ඒත් ඒ අය අප තරම් බලවත් නැහැ. ඇ වැසි නම් ඇ වැසි වෙලාවට ඔවුන්ගෙනුත් උදවු ලබත හැකියි. අප නැති විට ඒ අය තමා අපේ පැරණි දේ රැකබලාගන්නෙ. සුගුණ ඉන්නෙ කොටගම රකු විමනෙ. ඒ රකු විමන අයිති වහබ නම් රකු නායකයෙකුට. වහබගෙ මරණින් පසු එම මළ සිරුර කොටගම ගල් ලෙනේ තැන්පත් කරල එය වහබ රකු විමන කළා. කොටගම යන නම ඇතිවුනේ මේ මැතදියි. එහි නියම නම කොටගම නොවෙයි-කොටු ගම නොහොත් ගබඩා ගම.'' මකර විස්තර කළා.

''මකර, මට හන්තාන කඳුවැටියෙ ඇති පැරණි තැන් ගැන දූන ගන්න ආසයි. මකරට මතකනෙ අර කෑම මේස ළඟ හිටිය වයස්ගත මනුස්සය? අර සීයාතු සිය, එයා කිව තැන් ගැන විස්තර දූනගන්න ලැබුනොත් බොහොම වටිනව'' මකරට මා එසේ කීවේ හන්තාන ගැන විස්තර දූනගැනීමටය.

''ඔව් මහය, මට මතකයි. එයා කී සමහර දේ ඇත්ත. නමුත් සමහරක් වැරදියි. මා ඒ ගැන විස්තරයක් දෙන්නම්. හන්තානෙ ඉතිහාසය වසර හත් දහස් පන්සියයකට වඩා ඈතට දිවෙනව. ඒ වකවානු අයත් මහබලි යුගයටයි. මහබලි රජතුමා අයත් යක් රැහේ වලි රාජ පෙළ පතටයි.''

‘‘මකර ටිකක් ඉන්න. අමතක වෙන්න කලින් යමක් අහන්න තිබෙනව. මකර දන්නව ඇතිනෙ මහනුවර දළදා පෙරහැර පවත්වල අවසානෙ විෂ්ණු දේවාලෙ අසල වලි යක් නැටුම් නමින් උත්සව පූජාවක් පවත්වනව. ඒ වලි යක් නැටුම ඔය වලි යක් පෙලපතට සම්බන්ධකමක් තිබෙනවද?’’ මකර කතාකර ගෙන යද්දී ඔහුගේ කතාව නවත්වා මා එම පැණය ඇසුවේ එය ඉතා වැදගත් යැයි සිතුන බැවිනි.

‘‘ඔව් මහය, සෙන්කඩගල නුවර ජය පැන් පෙරහර පවත්වල අවසානයෙ එම පෙරහර ආපදවකින් තොරව පැවැත්වීමට වලි යක් පෙළපතේ ආදිමයන් රැකවරණ දුන් නිසා ඔවුන්ට උපහාර පැවැත්වීමයි එහි අදහස. වලිරාජ පෙලපත මහා බලගතු රජ පෙළපතක්. ඒ පෙළපතේ මළවුන් මිහිදන් කලේ නොහොත් තැන්පත් කළේ හන්තාන කඳු වැටියෙ තැනින් තැන. කඳුවැටියෙ සුදුසු ගල්කුලක් තෝරාගෙන එම ගල් ලෙනක මළ සිරුර තැන්පත් කර ණව. තැන්පත් කර මැටියෙන් හෝ ගල්වලින් මළ සිරුර වසා තබනව.

මහා වලි රාජ රජතුමාගේ සිරුර තැන්පත් කළායින් පසු මහා වැස්සක් දින ගණනක් පුරා ඇද හැළුනා. ඒ වැස්ස නිසා කන්දෙ එක් කොටසක් ගරා වැටුනා. ඒ ගරා වැටුන කොටසෙ මහා වලිරාජ රජතුමාගෙ හැඩ රුවට ගල් කුලේ මුහුණක් මතුවුනා. ඒ මුහුණ අදත් දක ගත හැකියි.

හන්තාන කඳුවැටිය දුන් ඒ නමින් හැඳින්වුනත් එහි නියම නම හාන්තැන කඳු වැටියයි. හාන් යනුවෙන් අදහස් වෙන්නෙ විවේක ගැනීමයි. මරණින් පසු විවේක ගත් තැන හාන්තැන නම් වුනා.’’ මකර විස්තර කළා.

‘‘මකර වලිරාජ පෙළපතේ තවත් බලවත් රජවරු හිටියද? ඒ අයගෙ නම් කියන්න හැකිද? රක්ආන රකු පෙළපතක් තිබුණ. ඒ වගේම කඳුකරයෙ වලිරාජ් පෙලපතක් තිබෙන්න ඇති කියා මට හිතෙනව..’’ මා එසේ කීවේ ඒ ඈත අතීතයේ හෙළදිව තිබූ රජ පෙළපත් සහ රජදහන් ගැන දැන ගැනීමටයි.

''මහය ඒ කාලෙ කඳුරට හැඳින්වුනෙ මලයරට නමිනුයි. වලිරජ පෙලපත තිබුනෙ මලයරටෙ එක් කොටසකයි. තවත් කොටසක සිටියෙ දෙව් රැහේ වුවන්. මුහුදුකරයෙ සහ ගංගා ඇසුරෙ හිටියෙ නා රැහේ වුවන්. සිව් හෙලය විසිර තිබුනෙ එහෙමයි.

@

යක් රැහේ වුවනුත්, රකුරැහේ වුවනුත් සුර අසුර හටනටත් සබැඳියි. හින්දියාවෙ සිටිය හින්දීයයන් සුරයින් ලෙස හැඳින් වුනා. හෙළදිව සිටියෙ අසුරයින්. සුර අසුර හටන ව ස ර දහස් ගණනක් පැවති බව හින්දීයයන් කියනව. සුර අසුර හටනෙ සඳහන් මහබලි, රහු, මලය රට නොහොත් කඳුරට යක්රැහේ නායකයින්. මලය රට හාන්තැනත්, සමනල අඩවියත් එක දිගට පැවත එන හෙළ බලය පැවති තැන්. නැව් බිඳී මෙහි පාවී ආ විජයගෙ කාලයෙත් එම පෙදෙස් බලවත්ව පැවතුනා.'' මකර කියාගෙන ගියා,

''ටිකක් ඉන්න මකර, කෑම මේසයෙදි අප අතර ඇති වුන කතා බහ මකර අසාගෙන සිටිය නොවැ. එ තැ න දී කෙනෙකු කිව සාතාගිරි නම් යක්ෂ සේනාධිපතියෙකු ගැන. අපි ඔය නම අහල තිබුනත් බුදුහාමුදුරුවන්ට ''නමෝ තස්ස'' ආදී වශයෙන් වැන්ද බවට වඩා යමක් දන්නෙ නැහැ. මකරට ඒ ගැන යමක් කිව හැකිද'' මා ඇසුයෙ සාතාගිරි ගැන විස්තර අසා දැන ගැනීමට මා මහත් ආසාවෙන් සිටි බැවිනි.

''මහය, සාතාගිරගෙ මුල් නම හත්ගිරා. ඔහුට හත්ගිරාය කිවෙ ඔහු හත්ගිරි පෙදෙස අදිපතිව සිටි නිසයි. හත්ගිරි පෙදෙස තියෙන්නෙ සමනල අඩවියෙ. ඒ පෙදෙස කඳු හත කින් සැදී සිටි පෙදෙසක්. ඒ පෙදෙස පාලි සකු වදන් ව ලි න් හැඳින් වෙන්නෙ සප්තකන්‍යා නමිනුයි. ඒ කඳු හත බඹසර කුමරියන් සත් දෙනෙකුට කැපකර තිබුණා. එයත් දිග කතාවක්. එයත් මා කියන්නම්.

සත් ගිරා නොහොත් සාතාගිරගෙ මරණින් ප සු ව ත් රකුලොවෙ ඉපිද සාතාගිරි නොහොත් හත් ගිරා නමින් එම කඳුවලට රැකවරණය දී ගෙන සිටිය. සාතාගිරගෙ රකුවිමන

තියෙන්නෙ හත්ගිරිවල සිව්වැනි කන්දෙයි. සත්ගිරාගෙ මරණින් පසු එම සෙනෙවියගෙ සිරුර එම කන්දෙ කැන්පත් කර ඔහුට එය කැපකළා. සාතාගිරගෙ මරණින් පසු රකුලොවේ සිට ඔහු ජීවත්වන මිනිසුන්ට බොහාම උදවු උපකාර කළා. ඔහු ජීවත්ව සිටි කාලෙ හටනෙදී මහත් දස්කම් පෑව. ඒ දස්කම් අනුව මරණින් පසුවත් තම දෑයේ වූවන්ගෙ හටන්වලදී සාතාගිරි තම රුහේවූවන්ට ජය ගැනීමට උදවු කළා, ලක තුල බුදු දහම පැතිරීමට මූලික වූයේ සාතාගිරයි.'' මකර විස්තර කළේ මෙතෙක් කිසි පොතක පතක සඳහන් නොවූ කරුණුය.

''මෙතෙක් හෙළි නොවූ කරුණු දූන් දූන් හෙළි වෙනව. ඒ ගැන මකරට මුළු හෙළ දෑයම සදු ණය ගැතියි. ලියා ඇති ඉතිහාස පොත පතෙහි සඳහන් වන්නේ ලංකාවත් හෙළයා නොහොත් සිංහෙළයාත් දියුණු වූයේ විජයගේ පැමිණීමෙන් පසුව බවයි. සමහරුන්ගේ මතයත් එයයි. නමුත් මේ ඔබ කියන තොරතුරු අනුව නම් ඊට පෙර මහා දියුණු දෑයක් මෙහි ඉඳ තියෙනව. මට ඇවැසි ඒ විස්තර තමා'' මා කීවේ මගේ නොවක් අදහස් මකර වෙත ඉදිරිපත් කර අපේ ඉතිහාසය හාරා ඇවිස්සීමටය.

''ඔව් බදුරු ඉතිහාසය ලියන තැනැත්තාගෙ යුතුකමක් තමා ඇත්ත නොවසා සත්තම ලියා තැබීම. නමුත් එසේ සිදුවී නැති බවයි පෙනී යන්නෙ. හින්දියාවෙන් පැමිණියවුන් ඔවුන්ගෙන් පෙර මෙහි දියුණු සමාජයක් තිබූ බව සඳහන් නොකර එය යටපත් කළ බවක් පෙණි යනව. ඈත අතීතයෙ පටන් ලකත්, හින්දියාවත් අතර බැඳිම් සහ ගැටීම් තිබුන. එහ අය මෙහි ආව. මෙහි අය එහි ගියා. එහෙන් ආ ඇතැමෙක් මෙහි රැඳී අප දෑයට එක්වූනා. අපෙන් එහි ගිය ඇත්තො ඒ පරපුරට එක්වූනා. නොමුස් කිසිවක් මෙලොව නැහැ. මුසුවූ තරමටම දියුණුවන් වැඩියි. ඊට හොඳ නිදසුනක් සත්ගිරාගෙත්, හිමවතාගෙත්, කතාව.

රාවණ රජතුමා හින්දියාවෙ රටවල් කිහිපයක් යටත් කරගත් අවදියෙ මෙහෙන් ගිය යක්, රක්. දෙව්, නා. යන සිව් ගොතේ වූවන් එහිම රැඳී හින්දිය දූයට එක් වූ නා. සත්ගිරාගෙ යහළුවෙකු වූ හිමවතාත් එබන්දෙක්. සත්ගිරාත් හිමවතාත් දෙදෙන හොඳ යහළුවො. සාතාගිර තම මිතුරා බැලීමට නිතර නිතර හිමාලයට ගියා. සත් ගිර අදිපතියා සත්ගිරා වුන අතර හිමාලයේ හිමවතෙහි සිටි රකු නායකය හිමවත නොහොත් හෙමවත වුනා.

බුදු රජානන් වහන්සේ ලෝ පහලවීමෙන් පසු හින්දියාවෙ සිටි ජනනායකයින් බොහොම දෙනෙකු උන් වහන්සේ වෙත ඇදී ගියා. හෙමවතත් බුදුරජානන් වහන්සේ වෙත ගිහින් බණ අසා පැහැදී උපාසකයෙකු වුනා. සත් ගිරා තම මිතුරා බැලීමට ගිය විටෙකදී දෙදෙනාම ගොස් බුදුරජාණන් වහන්සේ බැහැ දැක්ක. ඉන්පසුව සත්ගිරාත් බෞද්ධ උපාසකයෙකු වුනා.

සත් ගිරි නොහොත් සප්ත කන්‍යා කඳු තිබුනෙ සුමන සමන් දෙවිඳුන්ට අයත් සමනල අඩවියෙයි. සමන් දෙවිඳුනුත්, සාතාගිරිත් හොඳ මිතුරො. බුදු රදුන් හමුව ආපසු ආ සාතාගිරි බුදුරදුන් ගැන සුමන සමින් දෙවිඳුන්ට කිව. සුමන සමන් දෙවිඳුනුත් සත්ගිරා එක්ව බුදු රදුන් දැක පැහැද බෞද්ධ උපාසකයෙකු වුනා. ඉන්පසුව දෙදෙනාම නිතර නිතර බුදුරදුන් හමුවීමට හින්දියාවට ගියා.'' ඉතා වැදගත් ජාතික රහසක් මකර හෙළි කළේ එසේය.

''අප මෙතෙක් නොදත් මෙසියල්ල හෙළි කිරීම ගැන හෙළ දූය වෙනුවෙන් මා මකරට පින් දෙනව. මා හිතන්නෙ ඒ නිසාම විය යුතුයි. බිම්තැන්නෙ නා රැහේ වූවනුත් අතර ඇතිවීමට ගිය හටනක් නැවැත්වීමට සුමන සමින් දෙවිඳුන් බුදුරජාණන් වහන්සේ වැඩම කර ඇත්තෙ.'' මා මගේ අදහස්ද මකර වෙත ඉදිරිපත් කළෙමි.

''ඔබ හරි බුදුරු, එනිසාම තමා සුමන සමන් දෙවිඳුන් සටන නැවැත්වීමට බුදුරජාණන් වහන්සේට ආරාධනා කළේ. මිනිස් දිවි ගෙවූ කල සුමන සමන් දෙවියන් නාග රැහැට

අයත් වූවෙක්. නා රැහේ වූවන් එතරම් සටන්කාමීන් නොවෙයි එනිසා හටනක් ඇතිවූවහොත් පරාජය අත්වනුයේ නා රැහෙ වූවන්ට බව උන්වහන්සේ දැන සිටිය. යක් රැහේ වූවන් දරුණු සටන් කාමීන් නිසා ඔවුන් අතින් තම රැහේ වූවන් නැසෙනු දැකීමට නොහැකි නිසා බුදුන් වැඩමවා සටන නැවතුවා බුදුන් වහන්සේගෙන් බණ අසා නා රැහේවූවන් සහ යක් රැහේ වූවන් බොහෝමයක් බුදු දහම පිළිගත්න. මලය රට බලය මෙහෙය වූ යක් රැහේවූවන්ගෙ දෙවියන් වන උපල්වන් දෙවියනුත් බණ ඇසීමට පැමිණිය. එහිදී උපුල්වන් දෙවියනුත් බුදු දහම පිළිගෙන හෙළදිවේ බුදු දහම පැතිරවීමටත්, බුදු දහම අදහන්නන් රැකබලාගැනීමටත් ඉදිරිපත් වූනා. "හෙළ බෞද්ධ ඉතිහාසෙ වැදගත් රහසක් එම වදන් කිහිපය තුළ ගැබ්ව තිබූ බැවින් එය තවදුරටත් පැහැදිලි කර ගැනීම ඇවැසියැයි මට සිතුන.

"හරි දූන් මට තේරෙනව මකර. හින්දිය බල පැමි වැඩිවනවිට හින්දු මත මතාන්තරත් මුල් බැස ගැනීම නිතැ තින්ම සිදුවෙනව. මට ඇසිය යුතු තවත් දෙයක් තියෙනව අමනාප නොවී ඒකත් තේරුම් බේරුම් කර දෙනවද?" මට ගැටළුවක්ව තිබූ දෙයක් ගැන විමසීමටමකරගේ අවසර පැතීමි

"අහන්න බදුරු, අහන්න. අපේ දූය ගැන ඕනෑම දෙයක් අහන්න. මට හැකි පමණට මා පැහැදිලි කර දෙන්නම් එ. අපේ ජාතික යුතුකමක්." මකර කීවේ ඉතා සුහදවය

"අපේ හෙළ දූයේ ඈත අතීතය ගැන මට පැහැදිලි දැනුමක් ලැබුනෙ නිළමෙ හමුවීමෙන් පසු ඔබ හැම දෙන සමග කතා බස් කිරීමට ලත් වාසනාවෙන්. ඒ අනුව දැන ගැනීමට ලබුන හෙළදූය රැකීමට සිව් වරම් දෙවි වර කන්දෙ කුමාර දෙවියන්, සුමන සමන් දෙවියන්, උපුල්වන් දෙවියන් සහ විභීෂණ දෙවියන් බව, ඔබලාගෙන් මා දැන ගත්න. ඊට ඔබට පින්."

"හා, හා දොර අරින්න එපා. අද නිලමෙ ටිකක් දරුණුයි කාමරය ඇතුලට කවුරුවත් එනවට කැමැති නැහැ." එසේ කීවෙ කාමරයෙන් පිට දොරටුව මුර කළ අරනෝලිස්ය

නිලමෙගේ සහ මගේ කතාබහට අවහිර වන බැවින් කිසි-වෙකුට කාමරය ඇතුලට ඒමට අරනෝලිස් ඉඩ නොදුනි.

"මට මතකයි කෑම මේසෙදි කවුදෝ කිව හන්තානට මහා දිග අතීතයක් ඇති බව. එහි ඇත්තක් තිබෙනවද?" මා ඇසුවේ හන්තාන ගැන තවත් විස්තර දැන ගැනීමටය.

"ඔව මහය, හන්තානට දිග ඉතිහාසයක් තිබෙනව. මහා බලි, මහා වලිරාජ යන රජවරුන්ගෙත්, මහාකාලි නම් යක් රැහේ රැජිනගෙත් රකු විමන් එම කඳු වැටියෙ තිබෙනව. ඒව අදත් දැක ගත හැකියි. නමුත් බොහෝ දුරට වල් බිහි වෙල. මහාකාලි යක් රැජින මරණින් මතු යක් ලොවට පිවිස දැනටත් යක් ලොවේ වැජඹෙනව. මෑතක් වනතුරුම අපේ හෙළයින් කාලි දේවියගෙ රකුවිමනට ගොස් පුදපූජා පවත්වා නොයෙකුත් උපකාර ලබා ගත්ත. සතුරන් සමග සටන් වලදී ජය ගැනීමට කාලි දේවියගෙ උපකාර ලැබුව." මකර විස්තර කළා.

"මකර මටත් ආසයි ඒ කාලි දේවාලය බලන්න යන්න. මකරට මට කියාදිය හැකිද ඒ දේවාලය තිබෙන ඉසව්ව." මා ඇසුයේ එවෙලේ මසිතෙහි නැගී ආ දේවාලය බැලීමේ ආසාව නිසාමය.

"හරියටම එතැනට යන හැකි ගමන් මග විස්තර කිරීම අපහසුයි, මහය, එහි ගොස් ඇති අය දැනට ජීවත්ව සිටිනවුන් අතරත් සිටින බැවින් ඔබට එතැන සොයා ගැනීම එතරම් අපහසු නොවේවී." මකරගේ පිළිතුරෙන් දිරි මත් වූ මම අනාගතයේ යම් දිනෙක එම රකු විමන බැලීමට යාමට ඉටා ගතිමි.

(ඒ අනුව 1993 වසරේදී එම දේවාලය සෙවීමට හන්තාන කඳු වැටිය සැරිසරා එම විස්තර දැඩ සෙත පත්‍රයේ පළ කළෙමි. එම දේවාලය පිහිටි නියම තැන දත් කෙනෙකු සොයා ගැනීමට නොහැකි වූයෙන් දේවාලයට යාමට නොහැකි විය.)

''එකරට කියන්න හැකිද මහාකාලි දේවිය හෙළයින්ට පිහිටවූයේ කෙබඳු දේ සඳහාදැයි කියා,''

මා ඇසුයෙ මහාකාලි දේවිය ගැනත්, එතුමිය සතු බල තල ගැනත් දැනගැනීමටය.

''මහා කාලි දේවිය සටනෙහි දස්නම පැ දෙව්දක්. සුරයින් රැලක් මහබලි නුවරට පහරදීමට පැමිණිවිට මහාකාලි දේවිය සටන් කර ඔවුන් පරදවා එම සේනාව කඩා හැර ජයගත්තලු. ඒ දිනට වසර හත් දහසකට පමණ පෙර. ඉන්පසු එම නගරය සෙන්කඩකළ නුවර නමින් හැඳින්වූනාලු.

ඊට වසර දහස් ගණනකට පසුව විජය නොහොත් චණ්ඩසිංහ මෙරටට පාවී ආ සමයෙදිත් හාන්තැන වැදගත් සේවයක් ඉටුකර තිබෙනව. විජය කුමරු සිවපතිකා කුමරිය විවා කරගෙන දරු දෙදෙනෙකුත් ලැබීමෙන් පසු හින්දිය කුමරියක් ගෙන්වා සිවපතිකා කුමරිය රජ මැඳුරින් පිටකර යැව්ව. ඈ දරු දෙදෙනාත් සමඟ ගියේ හන්තානෙ මහාකාලි රැජිනගේ රකු විමනට. එහි ගොස් සිවපතිකා කුමරිය තමාට විජය කුමරු කළ අතවරය ගැන මහාකාලි රැජිනට පැමිණිලි කළා. ඊට දඬුවමක් ලෙසින් විජය කුමරු වෙත මහාකාලි යක් රැජින එල්ල කළ දිවි දොස නමැති සාපයෙන් විජය කුමරු මරු වසහයට පත්වුනා. දිවිදොස යනුවෙන් හැඳින් වූයේ වසූරිය නමින් හැඳින්වෙන වසංගත රෝගයක්. එම රෝගය හැදුනම දිවියන් සිහිනෙන් පෙනී බිය වෙනව. රෝගියාව දිවියන් ඇදගෙන යන්නාසේ පෙණෙනව. එම රෝගයට දිවිදොසයැයි කියන්නෙ එනිසායි. විජය කුමරු දිවි දොසින් මිය ගියා.

ඉන්පසුව හින්දියාවෙන් මෙහි පැමිණි පඩුවස්දෙව් කුමරුටත් මෙහි පැමිණෙන විටම දිවි දොස හැදිලයි ආවෙ. විජය කුමරුට දිවි දොස හැදීමෙන් පසු එම රෝගයට බෙහෙත් කොහොඹ ගසේ කොටස් වලින් සෑදීමට හැකි බව අපේ වෙදවරුන් සොයා ගත්ත. ඒ අනුව පඩුවස් දෙව් කුමරුගෙ

දිවි දොස කොහොඹ බෙහෙතින් සුවවුනා. එකල කොහොඹ ගසට යකෙකු ආරූඪවී ඇති බව යක් රූහේ වුවන් ඇදහූ අතර දෙවියෙකු කොහොඹ ගහේ අදිපතිය හැටියට දෙව් රූහේ වූවන් ඇදහුව. පඬුවස් කුමරුට සුවය ලැබුන පසු තමාට සුවය ලබා දුන් කොහොඹ යකාටත් කොහොඹ දෙවියාටත් උපහාරයක් ලෙස කොහොඹ කන්කාරිය නම් උළෙලක් පඬුවස් කුමරු විසින් හාන්තැනෙ පැවැත්තුව. එකල කඳු කරයෙ නොහොත් මළය රට අදිපති මලය රජතුමා එහි වැදගත් තැනක් දැරුව. පිටරටින් ආවුන් රට යටත් කර ගැනීමේදී රටේ අනෙකුත් පලාත් බද රජවරුන්ද කැඳවා උත්සව පැවැත්වීමෙන් එය එක්තරා පාලන උපායක්ද වුනා.

එම උළෙල හාන්තැනෙ පැවැත්තුවෙ ඒ වනවිටත් සැහෙන හෙළ බලයක් දැරූ මහා කාලි යක් රූජිනට උපහාරයක් ලෙසිනුයි. එයත් සිද්ද කලේ ඈත අතීතයේ හෙළයින් පැවැත්වූ උත්සව අනුව සාමෙනුයි. ඈත අතීතයෙ වෙසෙසින්ම රාවණ යුගයෙ පීදුම් කෙළි බොහොම තිබුණ. අපේ ඇදහීම් අනුව පිදුම් උත්සව පැවැත්තුවෙ රකුවිමන්වල. රකුවිමන් බාරව සේවය කලේ පිදනෙ නොහොත් කැපරාල. ලක නොයෙක් පලාත්වල නොයෙක් රකුන් නමින් රකු විමන් තිබුන අතර ලොකුම රකු විමන තිබුනෙ හරියටමට ලක මැද ලක්ගල

රටමැද පිහිටි මහා රකු විමන බාරව සිටියෙ මහාකාල රූසිතුමා. එම රකු විමන රකු ලොවේ ලොකුම බලවතා වන හිරු රකු වෙනුවෙන් කැපවී තිබුණ.

ලක හතර දිසාවෙ මුහුදට කිට්ටුව තවත් රකු විමන් සතරක් තිබුණ. ඒවා කැපවී තිබුනෙ සතර දිසාවටයි. ලක මැද පිහිටි ලක්ගල රකු විමනෙ උත්සව පැවැත්වුනෙ එම රකු විමනට හරියටම ඉහලින් හිරු මුදුන්වන දිනයෙයි.

එක් එක් වසරෙ උළෙල පැවැත්වෙන දිනය වසර කිහිපයකට පෙර ගණන් බලා යොදගෙන තිබුණ, නැකැත් හැදීම ගහසතර (ජ්‍යොතිෂය) ඒ කාලෙ එතරම්ම දියුණුව තිබුණ.

එම රකු විමනෙ ගිරිමත තමා කාලමානය තිබුනෙ. කාලමානයෙන් හෙළදිවේ හරි මැදට හිරු මුදුන්වන හොතෙ තමා බකමහේ මහ උළෙල පටන් ගත්තෙ.

කාලමානයේ කාලයත් කොටස් දොළහකට බෙද ලොස් රැස තුල ගහයන් දොලොසක් වුනා. තව කොටසක් අටකට බෙද නැකැත් විසි අටක් වුනා. දිනකට හර අටකුත්, මසකට දින විසි අටකුත් වුනා.

[1996 – පොසොන් පසලොස්වක දින මෙහි සඳහන් රුණු සෙවීමට මුණසිංහ ගුණවර්ධණ නමැති ගුරු මහතෙක් සුන් සමග ලක්ගල කඳු මුදුනත්, ඒ අවටත් පරික්ෂා කළ බව මට දැනගැනීමට ලැබිණ.

ඉන් පසු මෙහි සඳහන් කරුණුද දැනට ඇති නටබුන්ද ගැන ගුවන් විදුලියේ එස්. ලියනගේ මහතාගේ මෙහෙයවීමෙන් මා සහ මුණසිංහ මහතා අතර සාකච්ඡාවක් 9.7.96 දින රාත්‍රී 8 සිට 8.30 දක්වා කඳු රට සේවයෙන් විකාශනය විය.]

මුල්ම රකු විමන වන මහාකලි රකු විමනෙ කැපරාල මහාකලි රුසි තුමා. එම රකු විමනෙ උත්සවය සතියකින් අවසන් කර ඉන්පසු එක් එක් වානුවෙහි අනෙකුත් රකුවිමන්වල උත්සව පවත්වනව. රකුවිමන්වල උත්සව පවත්වන්නෙ අපේ මියැදුන නෑ දැ රකුන්ගෙන් පිහිට ලබා ගෙන දූයේ රැකවරණත් රටේ දියුණුවත් පතාගෙනයි.

මහාකලි රකුවිමනෙ උළෙල පැවැත්වුනෙ බක මහේ. බක මහ කීවෙ ලොකුම නොහොත් වැදගත්ම මාසය යන අරුතිනුයි. පුර හඳ තුනෙන් තුනට අවුරුද්ද වානු හතරකට බෙද තිබුණ. ඒ වානු හතරත්, හතර දිසාවත් එක් එක් රකු විමනට කැප කර තිබුණ. එක් එක් රකු විමනෙ එක දිගට වක් සතක් උත්සව පැවැත්වුන.

හිරු රකුගෙ තෙද බල වැඩියෙන්ම ලැබුන බක මහේ දී ලක මැද ලකේ හරි මුදුනට හිරු රකුගෙ පැමිණීම සිදු වුනා. එබැවින් එම වකවානුව රට මැද පිහිටි මහකලි රකු විමනට වෙන්ව තිබුන. මහාකලි රකු විමනත් ඇතුලත්ව තිබු රකු විමන් පහ

පස් පියාවක් (පංච පක්ෂි) වෙනුවෙන් වෙන්ව තිබුණ, සද සතර (ශබ්ද ශාස්ත්‍රය) අනුව පස්පියාවන්ට වැදගත් තැනක් ලැබී තිබුන. යහ ගී (සෙත් කවි) වින ගී (වස් කවි) හැදීමේදී පස් පියාවන්ගෙ බල යෙදුම් ඇවැසිවුනා. එම බල යෙදීමට නැකැත් බලයත් ඇවැසිවුනා. ඇයි බදුරු නොදන්නවයැ, බදුරුත් හොඳ යහ ගී වින ගී, තැනුවෙක් නොවැ.''

මකරගෙ එම වදන් කියැවෙන අතර මඳ සිනහවකින් මුව සරසා ගෙන මා දිහා බලන හැටි මසිතෙහි මැවින. ඇත්තෙන්ම මකරට අපේ වැනි සිරුරක් තිබියේ නම් මට ඔහුගෙ වත මත පැතිර යන මඳහස දැකිය හැකි වනු ඇත. මසැසින් මා මකර නොදුටුවද මනැසින් ඔහුගෙ හැඩ රුව, මස්පිඩුවලින් පිරුණු සිවිරියන් යෝධ සිරුර දණහිස තෙක් දෙපා වෙන්වෙන්ව වැසී සිටි සරාලය නම් වූ යටිකය වැසුම, වම් පස හිනෙන් එල්බ තිබූ කොපුවක් තුළ හෙවූ කඩුව, නිරුවත් උඩුකයෙහි වම් උරහිසින් දුරු ඊ තල පිරුණ හී කොපුව, අකුණු උරහිසින් දුරු දුන්න, ගෙල වටා බැඳි රන් මාලය, දෙඋර වසා සිටි රිදී ආවරණ රන් කමින් නිමවූ නලල්පට, නිල් මිණි කැට යුගළක් සේ දිලෙමින් තුබූ තියුණු නෙත් යුවළ මා මසැසින් නොදුටු මනැසින් දුටු මකරගෙ රුවය.

''ඇයි බදුරු නිහඬ? බදුරු නිදි වැදීවත්ද? එහෙම නැති නම් අතීතයෙ අතරමං වෙලාද? නැහැ නැහැ වෙන්න බැහැ. යහ ගීයක් හෝ වින ගීයක්වත් හදනවද? හදනව නම් හදන්න අනාගතයට වින ගීයක්. අනාගතයෙදී අපේ දූය පාවා දෙන්න වුන් නැසී වැනසී යන්න වින ගීයක් හදන්න.'' මකර කියා ගෙන ගියේ අනාගතයෙහි විය හැකි වින්නැහියක් ඔහු දුටු සෙයින්ය.

''නැහැ මකර, මා වින ගී හෝ යහ ගී ගැන නොවෙයි. කල්පනා කළේ. මගේ මසැසින් නොදුටු ඔබේ සිරුර මගේ මනසෙහි සිතුවම් කළා.'' මා කීවේ මාද සිටියා යැයි කියන ඒ මනහර අතීතයට නැවත යාමට හැකිනම් කොතරම් අගනේදැයි සිතමින්ය.

"මගේ හැඩ රුව බදුරු කෙසේ සිතෙහි සිත්තම් කළා දැයි මට නම් සිනාගන්න බැහැ. නමුත් බදුරු මට වඩා හැඩ රුව ඇති, පිරුණු සිරුරක් ඇති, තෙදවත් බලවත් කෙනෙකු ඔබ හමුවීමට බලා ඉන්නව. මා ඔහු කැඳවා එන්නම්. ඊයෙ දවාලෙහිත් ඔහු මෙහි පැමිණියා. නමුත් ඔබ වෙනත් කෙනෙකු එක්ක ගැටී සිටි නිසා ඔහු යන්න ගියා. නැවත එන බවත් කීව. එනිසා මා හිතනව ඔහුට පණිවුඩයක් දුන් වහාම මෙහි ඒවිය කියා. ඔහු රංග. රාවණ හමුදාවෙ මහ කෙරුමෙක්. මා ගිහින් එන්නම්. මා එන තුරු ඔබට තවත් දේ ඇති නොවැ කිරීමට. අද දවසම අප සමඟ ගත කළා නොවැ" මකර මගෙන් සමු ගැනීමට සූදනම් විය.

"හරි මකර මට මතකයි කලිනුත් ඔය රහා නැතිනම් රංග ගැන සඳහන් වුනා. ඒත් අපට හමුවීමට ලැබුනෙ නැහැ නොවැ. එහෙනම් මකර රංග කැඳවාගෙන එන්න. රංග ඉන්නෙ ඇල්ල පලාතෙ නොවෙද? අපට ඇල්ලෙ අතීතය ගැන විස්තරයක් රංගගෙන් ලබා ගත හැකියි." අතීතයෙන් එන අමුත්තෙක් හමුවීම ගැන උදම් වෙමින් මා මකර රංග වෙත යොමු කළෙමි.

## බාසුරුගේ අනාවැකි ⓐ

මද්දහන ගෙවීගොස් සවස් යාමයද ලඟාවෙමින් තිබිණ. අතීතයෙන් ආ අමුත්තන් සමඟ මා කාලය ගත කළ බැවින් නිළමෙ සමඟ වැඩි කතාබහකට ඉඩ නොලැබිණ. අප දිවි ගෙවන මේ යුගයෙන් වසර පන් දහසක් අතීතයට ගොස් අපේ අතීත මුතුන් මිත්තන් සමඟ ගතකළ කාලය මගේ දිවියේ අමතක නොවන සිදුවීමකි. ඒ ඈත අතීතයට ගොස් වසර හතලිහකට පසු එම අත්දැකීම්වල වටිනාකම වැඩියෙන්ම දැනෙණුයේ අපේ අනාගත පර පුරට දැන ගැනීම සඳහා ඒවා සටහන් කරණ අතරය. එහෙත් මෙහි සටහන් කරණ කරුණු මා හමුවට ආ පැරන්නන්ගෙන් ලබාගන්නවිට එද මා ඔවුන් සමඟ කතාබස් කළේත්, කරුණු විමසුයේත් හුදු විනෝදය තකා මිස පොතක පතක ලියා තැබීමට නොවේ.

දොර වසා තිබූ කාමරයෙන් පිටත ඉස්තොප්පුවේ කිහිප දෙනෙකුගේ කුසු කුසුවක් ඇසුන නමුදු ඔවුන් කතා කළේ කුමක්දැයි පැහැදිලිව නෑසුණි. කොග්ගල මහතාද තද නින්දකට වැටී සිටි සෙයක් පෙණුනද නිළමෙත් කොග්ගල මහතාතුල සිටියේද නැතිදැයි කීමට නොහැක. මම නිළමේ ඇමතිමි.

"නිළමෙ කොහොමද වැඩේ.? අපි හිතුවට වඩා වැදගත් නොවෙද? මට පෙණෙන හැටියට ඔය කැඳවන් එන්න යන රංග ටිකක් ගණන්කාරයෙකු විය හැකියි."

"මිස්ට මාකස්, මෙ නිළමෙ නොවෙයි. මේ කොග්ගල. නිළමෙ දැන් ටික වෙලාවක සිට කොහේදෝ ගිහින්. ඇයි මිස්ට මාකස්ට කීවෙ නැතිද කොහෙද යන්නෙ කියා?" කොග්ගල මහතා කතා කළේ මහත් අසරණ ලෙසකිනි.

"මිස්ට කොග්ගල, නිළමෙ යන්න ඇති යාළුවො බලන්න. දැන් නිළමෙටත් බොහොම යාළුවො ඉන්නවනෙ. මිස්ට කොග්ගල අද දවසෙම මොකුත් කෑවෙ නැහැනෙ. මා මිසිස් කොග්ගලට කියන්නම් මොනව හරි කන්න දෙයක් ගෙනෙන්න කියා." එසේ කියමින් මම හාන්සි වී සිටි අසුනෙන් නැඟී සිටියෙමි.

"මිස්ට මාකස්, මට කෑම නම් රුචියක් නැහැ. මොනව හරි බොන්න ඇති නම් හොඳයි. ඒත් මිස්ට මාකස් යන්න එපා. කාට හරි අඬගහල කියන්න."

මා කාමරයෙන් පිට නොවීම දොර හැර අසල සිටි බණ්ඩා අත ඇවැසි දේ කියා මිසිස් කොග්ගල වෙත පණිවුඩයක් යැවීමි.

විනාඩි පහක්වත් ගත නොවිණ. කොග්ගල මහත්මිය කැඳ කෝප්පයක්ද ගෙන කාමරයට ආවාය. ඒ සමඟම කොග්ගල මහතාගේ සිරුර මදක් වෙව්ලා නතර විය. එම වෙව්ලිම නතර නොවූයේ නම් ඒ නිළමෙ ආවේශවූ බව ට ලකුණුය. කොග්ගල මහතා මෙට්ටය මත හිඳගෙන කැඳ කෝප්පයම හිස් කළේය.

''හරි ෂෝක් කැඳ ටික. ඒක බිව්වම අමුතු පණක් ආව. මා හිතුවෙ නැහැ ඔක්කොම බොන්න හැකිවෙය කියා. ඒත් රස නිසා බීවා. අසනීප වීමෙන් පසු කොග්ගල මහතාගේ මුවඟ මඳ සිනාවක් නැගුණි.

මෙතෙක් වෙලා අසල සිටගෙන සිටි කොග්ගල මහත්මිය, ''අනේ ඔව් මහත්තයා, ඊයේ උදේ කෑවට පස්සේ මොනවත්ම කෑවෙ නැහැනෙ'' කියමින් කොග්ගල මහතා දෙස දයාන්විත බැල්මක් හෙළමින් මෙට්ටයේ කොණක වාඩි වූවාය.

ඇගේ බැල්මේද, ඔහුගේ බැල්මේද දයාව — කරුණාව ලෙන්ගතුකම සහ ආදරයද ගැබ්ව තිබ්බෙය්යැයි සිතුණෙන් මඳ වේලාවකට කාමරයෙන් පිටවීමට සිඳුවා පමණි.

''මෙ, මෙ, නැගිටිනවද නැද්ද ඔතනින්, ආව මෙතන පෑහෙනන. යන්නයි කීවෙ කාමරයෙන් එළියටම. තෝ තමා කොග්ගලය කෑවෙ.'' නිලමේ වියරුවෙන් මෙන් කෑගැසුවේය. කොග්ගල මහත්මිය කිසිවක් නොකියාම කාමරයෙන් පිටවී පිටතදී මෙසේ කියනු ඇසිණ.

''ඔව් නටාපියකො හෙට වෙනතුරු. හෙට එයිනෙ ඇඳුරො, එනකොට බලාගතිමු.''

''මහත්තය ටිකක් කල්පනා කරන්න. ගෑණු ජාතියට ටිකක් කරුණාව පෙන්නුවම එනව කරේ නගින්න. ඔය ගෑණි නැතිනම් කොග්ගල මගේ බෑණා, මට මෙතෙන්ට ආපු හැටියෙම කොග්ගලට ආවේෂ වෙන්න තිබුණ. ඒත් මම කොග්ගල කැඳ ටික බොනතුරු බලාගෙන හිටිය. ඒ ගැනවත් ඔය ගෑණි කල්පනා කළාද?'' නිලමේ කියාගෙන ගියේ කෝපයෙන් මෙනි.

''අනේ නිලමේ ඔවා ගණන් ගන්න එපා. කොග්ගලට තියෙන ආදරේ නිසානෙ ළඟට වෙලා හිටියෙ.'' මා කිවේ නිලමෙ සැනසීම සඳහාය.

''මොනවට කියනවද ගැණුන්ගේ ආදරේ ගැන. මහත්තය අහල තියෙනවද මේ ශ්ලෝකෙ?

ආත්ම බුද්ධි සුඛං දෙති — ගුරු බුද්ධි විශෙෂතඃ
ස්ත්‍රී බුද්ධි විනාශාය — බහු බුද්ධි මරණං භවත්

''තමන්ගෙ දැනීම අනුව වැඩ කිරීම සැප දෙනව, ගුරුවරයගෙ දැණීම අනුව වැඩ කිරිමෙන් විශේෂත්වයක් ලැබෙනවා. ගැහැණු මොළේ අනුව වැඩ කළොත් විනාශ වෙනව. හැම දෙනාගෙම දැනුම නොගෙන මොළේ අනුව වැඩ කරන්න ගියොත් මරණය තමා. හහ්! හහ්!! හහ්!!! මා කියන්නෙ බොරුද මහත්තයෝ?''

''මේ නිලමේ, දැන් කාලෙට ඕවා ගණන් ගන්න බැහැ ඔය ඉස්සර කවුදෝ කට කහනකොට කියපුව. දැන් කාලෙ වැඩිය නුවණ තියෙන්නෙ ගැහැණුන්ට. ඒ ඉස්සර තමා හැඳිමිටෙ දිග තිබුණේ.'' මා කීවෙ නිළමේ තව ටිකක් ඇවිස්සීමටය.

''ඒකත් ඇත්ත තමා. දැන් කාලෙ හැඳිමිටෙ දිග නොවෙයි ටැනිස් පිත්තෙ දිගනෙ'' කියා නිළමේ නිහඬ විය

''හහ්, මහත්තයා මෙන්න මහත්තය බලාපොරොත්තු-වෙන් හිටිය රංග ආව. මා අයින් වෙන්නම්, කතා කරගන්නකෝ ඕනැ දෙයක්.'' නිලමෙ කියා නිහඬ විය.

''බදුරු මකර අත එවූ පණිවුඩය මට ලැබුණා. ඒත් බදුරු සමඟ කීමට බොහෝ දේ තිබෙන බව කියා දැන් බාසුරුත් එන බවත් මා සමඟ කීව. හාහ්, මෙ කියනකොටම එන්නෙ. එහෙනම් මා හැන්දෑ යාමයේ එන්නම, ආසිරි! බදුරු ආසිරි'' රංග ගියේ බාසුරුට ඉඩ හරිමිනි.

''හාහ් බදුරු මා මෙහි එන්න බලාපොරොත්තුව ඉන්දදියි මකර පණිවුඩය දුන්නේ, ඉතිං මකරත් එක්සම මා ආව'' බාසුරු එසේ කී විට බාසුරු මකර සහ නිළමේ පමණක් නොව තවත් මළවුන්ගේ ලොවේ දිවි ගෙවන්නවුන් කිහිප දෙනෙකුම කාමරයේ සිටි බව නිසැකය.

''බාසුරු පසුගිය වතාවෙ ඔබ වටිනා කරුණු රැසක් හෙළි කළා, ඒ වගේම තවත් වැදගත් දේ දැන ගැනීම මට ඇවැසියි. ඒ නිසයි මා ඔබ ඇමතුයේ.'' මයැසින් නොදක මනසින් පමණක් දක බදුරුට මා කළේ කරුණු හෙළි කිරීමට ඇරයුමකි.

''ඔව් බදුරු එයත් හොඳ අදහසක්. අප සමග එකට සිටි ඔබත් එම අතීතය නොදන්නවා නොවෙයි. ඒ අතීතය ඔබත් දනිතත් දන්න බව ඔබ දන්නෙ නැහැ. ඊට එක් හේතුවක් නම් ඔබ අප සමඟ සිට වෙන්ව ගොස් අත් බැවින් අත් බැවක් ගානේ බොහෝ ගණනක් දිවි ගෙවා ඇති නිසයි. පසුව ලත් අත්දැකුම් වලිනුත් ඔබේ ඉපැරණි මතක සටහන් වැසී ගොස්.

අප එසේ නොව බදුරු, මිනිස් අත්බැවින් චුතව අප ගෙවනුයේ එකම එක අත්බැවක්. එබැවින්ම අප දැනුම පිරිසිදුව පවතිනව. ඔබ රටෙ අතීතෙත් දැයේ යටගියාවත් බසෙ හරබර බවත් අපේ සිත් සතන් තුල සදා කල් පවතිනව. ඔබෙත් අප බසට සහ අපේ හැදියාවටත් සිතේ ඇති දැඩි ඇලුම ඔබ සිතේ වැසී ඇති මතක සටහන් නිසයි.'' බාසුරු විස්තර කළා.

''එපමණක් නොව බාසුරු, අපට, අපේ හෙළ දැයට හරබර අතීතයක් තිබු බව මා සිතනව. ඒ මගේ හැඟීමක්. එහෙත් මට පෙණෙන හැටියට අපේ අතීතය යටපත් කිරීමට බොහෝ දෙනෙකු නැත්කර ඇති බවයි, මගේ හැඟීම. මට ඇවැසි ඒ වැසී ගිය නොහොත් වසාදැමූ අතීතයයි. අනාගතය බැලීමට ඔබට ඇති හැකියාවෙන් අපේ අනාගතයත් දැන ගැනීම මට ඇවසියි. අනාගතය බැලීමට ඔබට මෙන් හැකියාවක් අපට නැහැ නොවැ.'' මං එසේ කීවේ අතීතයට පමණක් නොව අනාගතයටද බාසුරු යොමු කිරීමටය.

''ඔව් බදුරු, මට අතීතය මෙන්ම අනාගතයත් බැලිය හැකි වන්නෙ වත්මනත් බැලීමෙන්. අනාගතෙ බලන්නෙත් අනාවැකි කියන්නෙත් ලඟම තිබු අතීතය සමඟ වත්මනත්

ගෙන බැලීමෙන්. ඒ අනුව සිදුවන්න හැකි දෙයයි. අනාගත අනතුරක සේයාව දැකීමෙන් එය වැලැක්වීය හැකියි. එවිට අර අනාවැකි නිසරුවෙයි. සිදුවන්න ඇති දෙයක් කලින් දැන ගැනීමෙන් ඇති පලය එය තමා.'' බාසුරු කියාගෙන ගියා.

''එනිසා බාසුරු මා ඔබෙන් විමසන්නෙ අපේ අනාගතය ගැන. සිදුවියහැකි දෙය දැන ගතහොත් සමහරවිට අපට අහිතකර දේ සිදුවීමට ඇති නම් ඒවා වලක්වාලිය හැකියි.'' මා කීවේ තව තවත් බාසුරු උනන්දු කරවීමටය.

''ඔව් බඳුරු, ඔබු හරි. අපෙන් ලත් දැනුම කලක් ගත වී යත්ම අප දූයේ වූවන් වෙත බෙදහැර එයින් අප රට රැකුම කළ හැකියි. දැන් ඔබට බැරි වූවත් ඔබට ඒ හැකියාව ලබා දීමට අපිත්, අපේ හයි හත්තියත් ඔබ වෙතට පවරණව.

හැම වසර දෙදහකුත් පන්සියක් ගතවෙත්ම අප දූයේ මහ වෙනස් වීමක් වුනොහොත් මහාලොකු වැනසුමක් ඇති වෙනව. දැනට එය සිව් වතාවක්ම වී හමාරයි. දැන් පැමිණ ඇති යුගය එයින් පස්වැන්න නොවැ, ඔබට මතකද කලින් වතාවක මා කියූ කතාවක්. ඈත අතීතයේ ගල් ලෙනක සිංහපවුලකුත් කොටි පවුලකුත්, සමාදනෙන් දිවිගෙවා නරියෙකුගෙ උපායෙන් සිංහ රැලත්, කොටි රැලත් නැසුන හැටි. අන්තිමට ගල්ලෙනේ අයිතියත් නරි රැලට හිමිවූ සැටි, බලන්න. අපේ රට කොතරම් සුන්දරද? අපේ දූය කොතරම් එක්සත්ව සිටියාද? දැන් වුවත් ඒ සමගිය එතරමම බිඳී නැහැ. එහෙත් ටික කලකදී සිංහළුන් පිල් බෙදී මහ දූය අඩපණ වීමට ඉඩ තිබෙනව.

බලන්න අර කවුළුවෙන් බටහිර අහස දෙස. අඩහඳත් එක් තරුවකුත් අහස් කුස දිලෙන හැටි. එවැනි තරු තව බොහෝ අහස් කුස ඇත. නමුත් මුළු අහස අඳුරු වනතෙක් සියළු තරු පෙණෙණු නැත. කලක් ලොව දූයක් ලෙස නැගී සිටි සිව හෙළය ඒ තරු මෙන්ම නැතිවෙනව.''

"බාසුරු ඔබ කොහොම කීවත් මා හිතන්නෙ නැහැ සිංහලය නැතිවේය කියා. සතවසර කිහිපයක් විදෙස් බලවලට යටත්ව සිටි සිංහලයට දැන් නිදහස ලැබී තිබෙනව, එනිසා නැවතත් අපට දූයක් ලෙස නැගී සිටිය හැකියි." මා එසේ කීවේ දෙගිඩියාවෙනි.

"එක් අතකින් ඔබ හරි බදුරු. එහෙත් මට පෙනෙණ හැටියට නම් අප දූයේ පැවැත්මට තිබූ සම්මත නොදුරු අනාගතයේදි නැසී යනවා. අපේ දූය එකක් ලෙස බැඳීමට තිබූන දේ හෙළ බසයි. අප බසත්, අපේ සිරිතුත් අපේ විරිතුත් අපේ ඇදහුමත් කිසිත් නොමදත් පිටරටින් මෙහි පැමිණි එවුනට කවරදවත් රටේ අයිතිය නොදීමයි අප රැයේ රිතිය.

එහෙත් තව ටික කලක් යන විට, රටේ පාලන බලය ලබා ගැනීමේ අරමුණින් පිල් බෙදී යන හෙළයන්ගේ දුර දිග නොබැලීමත්, බල තණ්හාවත් නිසා, ලොවක් සෙලවූ ජාතියක් සුළු ජාතියක් විලසට ඇද වැටෙන සැටි පෙනෙන විට මගේ හදත් කකියනව.

බදුරු ඔබ කීවනෙ නිදහස ලැබුණය කියා. කාටද නිදහස ලැබුණෙ? සිංහළුන්ටද? නැහැ. බටහිරින් ආ බසට ගැතිවී පර සිරිත් විරිතටම නතුවී සිංහල බසත්, සිංහල සිරිත් විරිතුත් නොදත් කළු සුද්දනුයි ඒ නිදහසින් පල ලැබුවෝ. ඉතින් කොහොමද වෙනස් කම් මත ගැටුම් ඇති තැන දූයේ සාමය කෙසේ පවතීද?

දූයේ එකමුතුකම බැඳීමට එකම බලයයි අපේ හෙළ බස, බටහිර බසක් නංවා හෙළ බස දෙවැනි කර දූයේ බැඳුමට තිබු හෙළ බස නසා ලනවා.

සිංහළේ නම වෙනස් කරමින් සිරිලකුන්යැයි නමක් පටබැඳ පෙරළි කරනව." බාසුරු කියාගෙන ගියේ ඉමහත් සිත් වේදනාවකින් මෙනි.

''ටිකක් ඉන්න බාසුරු, එතකොට අපේ බස නම් කරන්නෙ කොහොමද? ඉංග්‍රීසි කාරයගෙ බස ඉංග්‍රීසි, චීනගෙ බස චීන, ජපනගෙ බස ජපන්, එතකොට ලකුන්ගෙ බස ලැන්කි විය යුතු නොවේද?'' මා ඇසුවේද තරමක සිත් වේදනාවකිනි.

''ඔව් බදුරු එය එසේ විය යුතුයි. වෙනස් වීමත් ලොවේ නියදම. වසර දෙදහස් පන්සියයකට වරක් වැනසුන අපේ හෙළ දූය මේ වතාවෙත් වෙනස් වේ මැයි. සිංහලේ යැයි හැඳින්වූ රට පිටරටුන්හට බාරදුන්නේ සිංහලුන්මයි. එසේ නම් එය නැවත ආපසු බාරදෙනවිට බාර දිය යුතු සිංහලේ රට සිංහලුන්ටයි.

සිංහලේ තුල දිවි ගෙවූ තිර නිවැසියන් හැම සිංහලුන් වුනා. කොහෙන් ආවත්, කෙසේ ආවත් අපේ නම් ගෙන අපේ බස ගෙන අප සිරිත් විරිතටත් පුරුදුව සිංහලෙක් වනතුරු ඔවුන් හට රටේ හිමිකම් කියිත් ලැබුමට සිංහලුන් ඉඩ තැබුවෙ නෑ.'' බාසුරු කියාගෙන ගියේ නොනවත්වාමය.

''බාසුරු ඔබ මේ හෙළි කළ කරුණු වලට කොහොම තුති කරන්නද මා දන්නෙ නැහැ. කොහොම වුනත් ඔබෙ නම මගෙ සිතේ සද පවතිනවා.'' මා කියේ බාසුරු තව තවත් උනන්දු කරවීමටය.

''තුති නොවේ මට පින් දෙන්න'' මට කතා කිරීමට නොදී බාසුරු දිගටම කතා කළේය, ''එක් අතකින් මගේ දූය රැකීමට ඔබත් යොමු කිරීමෙන් අපේ යටගිය අතීතය ගැන දූන් සිටින්නන් උගතුනොත් එයින් මගෙ දූය රැකුනහොත් ඔබහටත් පින් දිය යුතුයි. දෙසට ඇති ආලයත්, බසට ඇති තැකීමත්, දූයට ඇති බැඳීමත් කෙමෙන් දුරුවෙමින් ගොස් තවත් ටික කලකදී දූයේ නායකයන් යැයි කියා ගන්නා සමහරුන් පර බසට හිස නමින, පර සිරිත් ගරු කරණ ගතින් මෙහි සිටිනමුත්, සිතින් පර දෙස සිටින ඇටකුණා වුවත් බව මට පෙනී යන සැටියි.

පර බස නොදන්නන් සිංහලය දන්නන් පර බසේ ගැත්තන්ට පාලනය ඉන්සප්ව පාලනය පර බසින් කෙරෙනද හෙළයාගෙ මළගමයි.”

“සමින්න බාසුරු. මා අසා තිබෙනවා දනුත් ඇත වන්නිකරයෙ ඇත ගම්මානවල රැහට වැද්ද ගැනීමෙ පිළිවෙතක් තිබෙනව. පිට ගම් කාරයෙක් ගමෙන් විවාහයක් කරගෙන හෝ වෙනත් හේතුවකට හෝ ගමේ පදිංචිය ඇවැසි වුනාම එබන්දෙක් තම රැහැට ගැනීමට ගමෙ නායකයා වරිග සබාව නම් වූ කණ්ඩායමක් කැඳවනව. අළුතින් පදිංචියට එන තැනැත්තා එම ගම් සහ රැහේ බස් වහර, සිරිත් විරිත් ආදී හැම දෙයක්ම පිළිගෙන ඒ අනුව ජීවත් වීමට පොරොන්දු වීමෙන් පසුවලු රැහැට වැද්දගන්නෙ. මාන් පිළිගන්නව අපේ රටට එන පිටරැටියන්ට පුරවැසි කම දීමට පෙර අපේ බස, අපේ සිරිත් විරිත්, ගති පැවතුම් සිංහලයින් වීමෙන් පසුව පමණක් පුරවැසි කම තහවුරු කළ යුතු බව. එසේ නැතිව පිටරටින් මෙහි පැමිණ ඔවුන්ගේ බස, ඇදහීම්, සිරිත් විරිත් ආදිය පවත්වාගෙන යමින් අපේ අයත් ඒවාට පුරුදු පුහුණු කිරීමට තැත්කරන්නන් ආක්‍රමණිකයින් හැටියටයි සැලකිය යුත්තේ.” මා කීවේ තව තවත් විස්තර ලබා ගැනීමටය.

“හරියට හරි.බාසුරු, මටත් මොහොතක් ඉඩ දෙන්න. අපේ කාලෙ අපේ රටට නම් ලොවේ හැම රටකින්ම වෙළඳාම පිණිස වෙළඳුන් පැමිණියේ. ඒ ආ හැම දෙනෙක්ම ආපසු ගියේ නැහැ. සමහරෙකු මෙහිම පදිංචි වුනා. ඔවුන් අප හා මුහුවීමෙන් හෙළයින්ම වුනා. ආපසු ගිය සමහරෙක් අපේ සිරිත් විරිත් ආදියත් ඒ රටවලට ගෙන ගියා. වෙනකක් තබා මා හැදූ සිවරංග කෙළියත් ඔවුන් ගෙන ගොස් නමත් වෙනස් කරල දැන් වෙස් නමින් කෙළිනව. ඒත් තව ටික කලකදී අපේ දූය නම් මහා වෙනසකට පත්වන බව නම් සහතිකයි.” එසේ කීවේ රංගය.

හෙළය ගැන කතා කරණ විට එදා එතැන බාසුරු සහ රංග පමණක් නොව තවත් බොහෝ දෙනෙකු අතීතයෙන් පැමිණ සිටි බව නම් මට සහතිකය.

''ඔව් රංග මා අසා තිබෙනව ඔය චෙස් කෙළිය ඉතා පැරණි එකක් බව. චෙස් ක්‍රීඩාව කරණුවත් මා දැක තිබෙනව. මා නම් එම ක්‍රීඩාව කර නැහැ. අපේ ඇත්තො නම් සිතා ඉන්නෙ ඔය ක්‍රීඩාව පිටරටියන්ගෙ එකක් කියායි.'' රංගට මා කීවෙ රංගගෙන් තවත් කරුණු දැනගැනීම සඳහාය.

''බඳුරු මේ ටික අහන්න. අපේ රට ලොකු වෙළඳ පලක් වූයේ මුහුදින් මෙහි ඒමට ඇති මුදු සුළං පහසුව නිසයි. මේ රටේ පිහිටීම, මහ මුහුදේ දිය රැලි, දියවැල් මුදු සුළඟ නිසා මෙහි ඒම පහසුයි. ලෝක ගෝලය කර කැවීමේදී පොළොව මත මුහුදු දිය එම වේගින් නොකරකැවී මදක් පෙහෙළිහිට යනව. ඒ අනුව පෙරදිග සිට අවරදිගට ජලකඳ තල්ලුවීමක් ඇති වෙනව. සෙලදිවේ පිහිටීම ලෝක ගෝලයෙ මැද නිසා අප රටට එය හොඳින් බලපානවා. එසේ ඇතිවන ගමින් පහසුවෙන් වෙළෙන්දන් මෙහි ඒම වැඩිවූනා.'' රංග පැහැදිලි කළා.

''හරි රංග ඔබ හරි ලස්සනට පැහැදිලි කරපුනම්. අපේ රටට ආ ඒ විදෙස්සන් ඔවුන්ගෙ දේ මෙහි ගෙනාවා. එලෙසටම උන් අපේ දේ එහි ගෙන ගියා. අපේ බස සහ සිරිත් විරිත් උන්ගේ දේ හා මුසු වුනා. ලොව ඇති ඉපැරණි බසක් වන අපේ හෙළ බස් වදන් සහ ආර්යන් උන් ගෙන ගියා.

සතා යන හෙළ වදන විමසමු. මෙමිහි මත ඇති සැම දෙයක්මත් හැදුනෙ පස් මහ බූතන්ගෙන්. (පංච මහා භූතයින් ගෙන්) සතා නම් ලත් එසා සතුවූ තවත් අමතර දෙකක් එහි ඇත. එනම් සිත සහ පණද එක්වී හතස් සැදේ, හතක් එක්වූ තැන හත වේ. කියවීමේ පහසුව තකා එය සතා නම් වේ. සතා නම් වූ ඒ වදන වෙන බසකට ගත් කල සත්ත නම හෝ සත්ව නම් වේ. හෙළ බසේ ඇති හැම වදනකම අරුත් විමසා බැලීමේදී එහි ගැබ්ව ඇති අරුත වැටහේ.'' බාසුරු පැහැදිලි කළා.

''ඔව් බාසුරු මාත් ඔය ගැන කල්පනා කළා. කලින් ඔබ කී අන්දමට අපේ එක දවසක් විසි අටකට බෙදූ එක් කොටසක් හර නම් වුනා. ඉංග්‍රීසි බසින් අවර් නම් වූ වදනට එය කොතරම් කිට්ටුද?'' මා කීවා.

''එපමණක් නොවෙයි. ගන්නකො බුලත් යන වදනත්, බුලත හෙළයාගේ හැම වැදගත් දෙයකටම ගැනෙන කොළයක්. එහි අරුත බුහුමන් ලත් යන්නයි. එය බුහුලත් වූවා, ඉන් පසු බුලත් වුනා,

එකස්. අපේ ඇදහුම මළවුන් ඇදහීමයි. අපේ ඇත්තන් බුහුමන් ලැබුයේ මියැදුනායින් පසුවයි. එනිසාම අප ඔවුන් ඇමතුයේ බුහුවන් නොහොත් බුහුමන් ලද්දවුන් ලෙසයි. කලක් යාමේදී බුහුවන් බුවන් වූවා. බුවන් යන හෙළ වදන සකුවට ගිය විට ගුත නම් වුනා.

අපේ ගම නම් දෙසත් විමසිලි මත්ව බැළුවොත් එහෙම වදනක් ඇතිවුයේ එහි ගැබ්ව ඇති අරුතක් ලෙසයි. රක්වාන යනු රකුන්ගේ ගම. නාලන්ද නා ගොතුන්ගේ ගම. ඒ අසල ඇති ගල් ලෙනක් අකර හැඩි ලෙස නම් ලබා ඇත. රාම රාවණ හටනෙදි අහසින් යැවූ ගිණි අවි හැදීමට ගත් බෙහෙතින් එක් කොටසක් හඩු නම් වුනා, හඩු ආකර කරගත් තැන ආකර හඩු නම් වුනා. කලක් යත් එය අකරහැඩි යැයි නම්වුනා.

මෙහි පැමිණි විදෙස්සන් අප රැහට මුසුවෙද්දි අපේම වූ බස් වහර විදෙස් බස් හා මුසුව දියුණුවත් පැතිරුමත් ඇති වුනා. දැන් ඔබ වහරන්නෙ අපේ මුල් බස නොවෙයි. මුල් බසින් දෙඩුවහොත් ඔබට එය නොතේරේ, ලොවේ ඇති හැම දෙයම වෙනස්වීමට නතුයි.

ඔබ එයට ගිජු නැතුත් ඔබේ සගයින් සමහරුන් බොහෝ ආසා කරණ මත්පැනක් නොවැ, අරක්කු. අරක් යනු එහි මුල් නමයි. එහි අරුත නම රක් ගොතට නුසුදුසුය යන්නයි. එකල අපි එය බිවේ කිසිවිට රොගීන් පෙළුනොත් පමණමයි, අපේ රාවණ රජතුමා අරක් ගැන එක් පොතක් කළ මුත් රාම රාවණ හබෙන් පසුකල බාරතෙට එය ගෙන ගියා'' බාසුරු කියාගෙන ගියා.

''ඔව් බාසුරු එද රකුන්ට තහනම් වූ අරක්කු අද හෙළයින් බී ගෙන යකා නටනව, එසේ බලන වීට අද සමාජයත්, එද සමාජයත් අතර වෙනස ඔබ දකින්නෙ කොහොමද? මා ඇසුවා

''බදුරු අද හෙළ සමාජය නම් බොහොම කුහකයි, මත් පැනට ගිජු බවක් පමණක් නොවෙයි, හැම අතින්මත් පිරිහිලා දෙසට බසට රැසට හෙණ ගැහුවත් කමක් නැහැ, තම මඩිය තර කර ගතොත් ඒ ඇති. මුදල් වලටම වහල් වීලා, තමන් සතු හැම දෙයක්වත් පාව දේවි බලය ලැබුමට, තවත් ටික කලකදී එය වැඩිව යයි.

අපේ කාලෙදී අප බැලුයේ අවම ඇවැසියාවන් දෙසයි. ඇවැසියාවට වැඩිය කිසිවක් රැස් කළේ නැහැ. සමාජයේ හැම කෙනෙකුමත් එකු හා සමානයි.

ගොවි තැනින් ලත් අස්වනුත් ඇවැසි තරමට ළඟ තබා ගෙන වැඩි හරිය රක්වීමන වෙත පිදේ. තමන් හට හෝ වෙනත් කෙනෙකුට අහේනිය හෝ අකරතැබ්බයක් ඇතිවූ විටකදී රකු වීමනෙ තැන්පත් දෙයින් ආපදු වූ අයට සැලයෙයි, ඇවැසි සහනය.'' බාසුරු විස්තර කළා.

''එහෙනම් ඒකත් දැන් ඇති රක්ෂණ ක්‍රමය වගෙයි,'' මා කීවේ එද පමණක් නොව අදත් එබඳු ක්‍රම ඇති බව පෙන්වීමටය.

''ඔව් බදුරු, තරමක් දුරට ඒ වගෙයි. නමුත් එහි වෙනස මෙයයි. එද අපට වැඩි වූ දේ අනින් අයගේ යහපතට පිදුවේ මිහිමතින් අපට ලැබෙන දේ අයිති මිහි තලයටත්, එහි වෙසෙන්නවුනටත්ය යන අදහසින්. එද අපේ ඇදහීම වූයේ මෙ රටත් එහි ඇති දේත් අපට අයිතියක් නැත. මෙහි වසන අප හැම දෙනෙකුම රටට අයිතිය. රටට ඇවැසි බැවින් අප මෙහි ගෙන්වාගෙන සේවයක් රැගෙන ඉන් පසු අප දිවිය අවසන පරලොව යවනව. ඒ යනවිට කිසිවක් අප ගෙනයන්නෙ නැහැ. හැම දෙයක්ම මෙහි රඳවා යනව,

අප අයිති රටටත්, දැයටත් බැවින් අපේ රටට, අපේ දැයට අහිතකර දෙයක් යමෙක් කළොත් ඔහු රටට දැයට අනැවැසි-යෙකු හැටියට කොන් කරණව, නින්දවට පත් කරණව, පහත්

වැඩ කළ එවුන් දුටුවිටදී හෝ මගතොටදී හමුවූ විටදී හෝ එබන්දෙකු දෙස පිළිකුලෙන් බලා අසලට කෙළගසනව. එය මහම නින්ද කිරීමක්· එබන්දෙකුගේ නිවසකට යන්නෙ නැහැ. කතා කරන්නෙ නැහැ. නිවසකට වැද්දගන්නෙ නැහැ. එබන්දන් සමාජයෙන් සහමුලින්ම කොන් කරනව. එනිසාම හැම දෙනාම හොඳින් හැසිරෙනව.

පිටින් මෙරටට පැමිණියෙකු මෙ රටෙ බස, මේ රටේ සිරිත් විරිත් නොගෙන රැහැට එක් නොවී සිටින විට තම ඉඩමෙ හිර ලෙස දිවි ගෙවීමට ඉඩ දුනහොත් ඉඩ කඩ පාවා දුනහොත් එබන්දෙක් සතුරෙකු ලෙසටයි සැලකුණේ. එබන්දන් සමාජයෙන් කොන් කළා.'' බාසුරු කියාගෙන ගියේ රැහේ සහ දූයේ ඒකීය බව රැකීමට යොදා තිබූ පණත් ලෙසය.

''දැන් නම් එහෙම නැහැ. බාසුරු. ලෝකය වෙනස් වන විට අපිත් වෙනස් විය යුතුය. අපේ ඇදහීම වන බුදු දහම දෙසා ඇත්තෙ මෛත්‍රිය කරුණාව සහ ඉවසීම. අපි ඒ අනුව ජීවත් විය යුතුයි. මෙ රටෙ වැඩි දෙනාගෙ අදහස එයයි,'' මා කීයේ ඒ ගැන බාසුරුගේ අදහස් දැනගැනීමටය.

''ඔව් බඳුරු ඔය තත්වය තව ටික කලකදී තවත් වැඩි වෙනව, ඕනෑම රටකින් ඕනෑම කෙනෙකු මෙහි පැමිණ මෙ රටෙ මහ දූයට එක් නොවී වෙන්ව විසීමට වරම ලැබෙනව. හැම දෙයකම සීමාවක් තිබිය යුතුයි.

අපේ ඒ අතීතයත් අනාගතයේදී විය හැකි වැනසුමත් ගැන සැවොම දැනුවත් කළොත් අපේ දූය නැසීමෙන් වලක්වා ගත හැකියි. මා කලින් වතාවක ඔබට කී කතාවක නරියෙකුගෙ උපායෙන් සිංහ රැලත්, කොටි රැලත් නැසුන හැටි ඔබට මතක ඇති. කොටියට ලෙනේ අයිතියෙන් සම අයිතියක් නොහොත් පණහට පණහ ඉල්ලීමට යොමු කළේ නරි උපායයි. සිංහයත් නරියත් එකිනෙකා මරාගත් අතර නරියා දෙදෙනාගෙම හොඳ හිත රැකගෙන ලෙනේ අයිතිය අල්ලා ගත්ත.

සිංහල බස උගෙන, සිංහල සිරිත් ගෙන, සිංහල චිරිත් රැකගෙන මුසු විවා විශේෂනුත් එක් දූයක් ලෙස බැඳී සිටියොත් දූයේ වැනසුම නැවැත්විය හැක.

අඩුම ගණනේ එක් බසක් වත් භාවිතා කර දූයේ එකමුතු කම රකින්නට ඉටා ගතහොත් දූයේ වැනසුම වැලැක්විය හැක. අපේ බස භාවිතා වන්නේ මේ රටේ පමණක් බැවින් දූයේ එකමුතු බව පතා සිංහලත්, පිටස්තර ලෝකයේ බැඳුමට මොන බසක් හෝ දෙවන බසකුත් උගෙණිම නොකළොත් අනාගතය නම් ඉතාමත් අඳුරුයි.

බඳුරු සමග දූන් සැහෙන වේලාවක් ගත කළා. ආසිරි බඳුරු,! ආසිරි! දූය සමගි වේවා - දූයේ පැවතුම මතු රැකේවා. තවත් වරක් ආසිරි බඳුරු.'' ඒ බාසුරු සමුගත් සැටියැ.

''මහත්තය, බාසුරු ගියා නොවෙද? අපි නැවත ගෙන්වා ගනිමු. ''නිළමෙ කීවේ මා සැනසීමට මෙනි.

අපේ දූය හැඳින හැටි බාසුරු කියන විට මට මෙසේ සිතුණි.

''හෙළ හුරු නමක් ඇති
හෙළබස් වහර ගෙන ඇති
හෙළ සිරිත් විරිතැති
දනෝ හෙළයින් නමින් හැඳිනෙති''

@

දෙවැනි කොටස නිමි.

තෙවැනි කොටස බලාපොරොත්තු වන්න.

මෙය කියැවූ ඔබට සිව හෙළ සිවවරම දෙවිඳුන්ගේ රැකවරණ ලැබේවා!

## තිළමෙගෙ කතාවට

# මැණිකෙගෙ සහතිකය

"දෙපාලි" මැණික්කඩවර. තුන්තොට.

සිතුමිණි පත්‍ර කර්තෘ තුමාණෙනි, 1978 මාර්තු 01

ඔබතුමාගේ පත්‍රයේ සතිපතා පළවෙන කොග්ගල තිළමේ කතාව මගේ ස්වාමිපුරුෂයා හා සම්බන්ධ කතාව බව මට පෙනීයයි. මෙම සිද්ධිය වූයේ මගේ මහතා බදුල්ලේ ලුනුගල පාඨශාලාවේ ගුරුවරයෙකු වශයෙන් සේවය කළ කාලයේදිය.

මාකස් මහතා එකල ලුනුගල රජයේ රෝහලේ සේවය කළේය. මගේ ස්වාමිපුරුෂයාට එම භූතාවේශය වූ වේලේ මාකස් මහතා සතියක්ම අප සමග නතරවී මගේ ස්වාමිපුරුෂයා ආරක්ෂා කිරීම ගැන මගේ අවංක ස්තූතිය අදත් පුදකරමි.

එම කතාවේ සඳහන් සිද්ධීන් සියල්ලක්ම මා දත් සත්‍ය සිද්ධීන් බවද මෙයින් සහතික කරමි. මගේ ස්වාමිපුරුෂයාගේ සම්පූර්ණ නම 'දොන් ෆ්‍රැන්සිස් ද සිල්වා හේවා කොකාවල' ය. භාවිතා කළ නම 'ඇෆ්. එච්. කොකාවල' යි.

මෙම සිද්ධිය සත්‍ය සිද්ධියක් බැවින් එම නම ඇතුලත් කතාව මගේ ස්වාමිපුරුෂයාගේ නම යොදා ප්‍රසිද්ධ කරන්නේ නම් මැනවයි සිතමි. මාකස් මහතාගේ අකමැත්තක් නැතිනම් එසේ කරන මෙන් ඉල්ලමි.

අප විවාහ වූ අලුත ගත් අප දෙදෙනා ඇතුලත් සේයා රුවක්ද මේ සමග එවමි. මේ පිළිබඳ තවත් ඕනෑම විස්තරයක් අවශ්‍ය වුවහොත් මගෙන් ලබාගත හැකි බවද මෙයින් දන්වමි.

තවද, 1960 වසරේදී තිළමේ එම ආත්මයෙන් අත්මිදවීමට මියගිය මගේ මැණියනුත්, මහත්මයාගේ මියගිය පියතුමත්, විසින් මාතලේ කවටයමුණේ විහාරයේදී පින්කමක් සිදුකරන ලදී. මේ හා සම්බන්ධ තවත් බොහෝ වැදගත් සිද්ධීන් ඇති බැවින් ඔබතුමාගේ සිතුමිණි පත්‍රයේ පළකිරීම සඳහා මට විවේක ඇති වේලාවල ලියා එවමි.

එතුමා 1971 අගෝස්තු මස 6 වන දින කෑගල්ල රෝහලේදි හෘදයාබාධයකින් මියගිය බවද සංවේගයෙන් සඳහන් කරමි'

මීට, ලෝකයාට සෙත පතන,

පත්මා කොකාවල

